# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමගින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරු පරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද  සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී.එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අනුශාසකත්වය**

අතිඋතුම් දේව ධර්මාචාර්ය ඔස්වල්ඩ් ගෝමිස් අගරදගුරු හිමිපාණෝ (විශ්‍රාමික)

අතිඋතුම් දේව ධර්මාචාර්ය මැක්ස්වල් සිල්වා රදගුරු හිමිපාණෝ

අතිගරු දයා ෂෙල්ටන් වැලිකඩආරච්චි පියතුමා

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්.ජී.ඩී.එන්.එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා - ජාතික අධ්‍යක්ෂ, කතෝලික ධර්මෝපදේශ මධ්‍යස්ථානය, කොළඹ 08

ගරු එම්.ජී.එල්. ප්‍රනාන්දු පියතුමා - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ,
ආගමික හා සාරධර්ම අංශය,
අධ්‍යාපන අමාත්‍යාංශය

ගරු ඩී.එම්.ඩී.ඒ. ජූඩ් සී. දසනායක පියතුමා - බාහිර කථිකාචාර්ය, වයඹ ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය, බිංගිරිය

ගරු කාල්ටන් ද සිල්වා පියතුමා - කථිකාචාර්ය, ආගමික හා සාරධර්ම අංශය
ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

ගරු එස්. අන්ද්‍රයාස් ඒබ්‍රහම් ප්‍රනාන්දු පියතුමා - සහකාර කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

## ලේඛක මණ්ඩලය

| | |
|---|---|
| පී.ඒ. අසුන්තා බර්ටිල් චාන්දනි පෙරේරා | - විදුහල්පති, බප/පිළි/ සාන්ත ජෝසප් බාලිකා විදුහල, නුගේගොඩ |
| දුෂ්මන්ති දයා කුමාරි ද සිල්වා | - ගුරු උපදේශිකා, කලාප අධ්‍යාපන කාර්යාලය, මිනුවන්ගොඩ |
| ඩබ්.එම්.පී. රංජිත් ප්‍රනාන්දු | - විදුහල්පති, මාදම්පේ සාන්ත සෙබස්තියන් මහා විදුහල, මාදම්පේ |
| ඈන් නිශාන්ති රත්නසිංහ | - ගුරු වෘත්තිය, බප/පිළි/ සාන්ත ජෝසප් බාලිකා විදුහල, නුගේගොඩ |
| ඈන්. ෆ්‍රැන්සිස්කා රාජයෝගිනී | - ගුරු වෘත්තිය, සියලු සාන්තුවරයන්ගේ බාලිකා මහා විදුහල, බොරැල්ල |
| ටී. ජේ. පී. ඇන්ටනි | - විදුහල්පති, (විශ්‍රාමික) |
| ගරු රංජි පෝල්දුරෙයි පැවිදි සොයුරිය | - දෙමළ අංශ ප්‍රධාන, කතෝලික ධර්මෝපදේශ මධ්‍යස්ථානය |

## භාෂා සංස්කාරක

| | |
|---|---|
| අචින්ත්‍ය බණ්ඩාර | - සහකාර කථිකාචාර්ය, සිංහල අංශය කොළඹ විශ්වවිද්‍යාලය |

## සෝදුපත් කියවීම

| | |
|---|---|
| ගරු ටිමලි ලෝච් පැවිදි සොයුරිය | - ගුරු වෘත්තිය, බප/පිළි/ සාන්ත ජෝසප් බාලිකා විදුහල, නුගේගොඩ |

## චිත්‍ර

| | |
|---|---|
| එච්.ඩී. ෂර්මිලා ප්‍රියදර්ශනි | - ගුරු වෘත්තිය, සියලු සාන්තුවරයන්ගේ බාලිකා මහා විදුහල, බොරැල්ල |

## පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය

| | |
|---|---|
| එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි | - පරිගණක අංශය, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## පිටකවරය

සජිත් ඉෂාන් හෙට්ටිආරච්චි

# පටුන

පිටු අංකය




පිවිසෙන්න නිදහසේ සතුටින් දැනුම සොයා.. ට... www.e-thaksalawa.moe.gov.lk
The National e-learning Portal for the General Education

# හැඳින්වීම

කතෝලික ධර්මය දේව වචනය සහ සභා සම්ප්‍රදාය මත පදනම් වී ඇත. එනම් ශුද්ධ බයිබලය සහ සභා ඉගැන්වීම් එහි අත්තිවාරම ය. මෙම පෙළ පොත සම්පාදනය කිරීමේ දී ශුද්ධ බයිබලය සහ කතෝලික සභා ධර්මෝපදේශය පදනම් කොටගෙන ඇත. කතෝලික සභා ධර්මෝපදේශය තුළ සම්ප්‍රදායෙන් එන සභාවේ නිල ඉගැන්වීම් ආවරණය කර ඇත.

මෙම පෙළ පොතේ තේමා පහක් මත පාඩම් 25ක් අඩංගු වී ඇත. පළමු තේමාවෙන් ශුද්ධ බයිබලය පිළිබඳ අවබෝධය ද දෙවන තේමාවෙන් දේව අනාවරණයට ප්‍රතිචාර දක්වමින් විශ්වාසයේ ජීවිතයක් ගත කිරීම ද, තුන්වන තේමාවෙන් දේව ප්‍රසාද නිධාන මගින් ක්‍රිස්තුන් වහන්සේට සම්බන්ධ වී නව ජීවිතයකට සාක්ෂි දැරීම ද හතරවන තේමාව මගින් දේව පනත් පිළිපදිමින් ප්‍රේමයේ ජීවිතයක් ගත කිරීම ද පස්වන තේමාව මගින් යාච්ඤාවෙන් පෝෂණය ලබා දෙවියන් වහන්සේ සමඟ ද මනුෂ්‍යා සමඟ ද ගැඹුරු සම්බන්ධතාවයක් ගොඩ නගා ගැනීම පිළිබඳව ද සාරවත් කරුණු විස්තර කර ඇත.

ඔබේ ප්‍රසාද ස්නාපනීය කැඳවීම තුළ ආරම්භ කළ විශ්වාසයේ ජීවිතයට සාක්ෂි දරන්නට ආධ්‍යාත්මික පෝෂණය ලැබෙන ඉගෙනුම් ඉගැන්වීමකට ඔබ යොමු වේවා යි ප්‍රාර්ථනා කරමි. රටට දැයට වැඩදායි ගුණ ගරුක යහපත් කිතුනුවකු, ධර්මිෂ්ඨ මනුෂ්‍යයකු ඔබ තුළින් බිහිවේවා!

ජේසු පිහිටයි!
අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා
ධර්මෝපදේශය සහ බයිබල් සේවා ජාතික අධ්‍යක්ෂ

# 1 ශුද්ධ බයිබලය



1.1 රූපය - ශුද්ධ බයිබලය

අක්කා :- ඔයා දන්නවාද මල්ලී, ලෝකයේ වැඩි ම භාෂා ගණනකට පරිවර්තනය කරලා තියෙන පොත මොකක් ද කියලා?

මල්ලී :- අපොයි! ඔව්, බයිබලයනේ.

අක්කා :- හා! හා! එහෙම කියන්න එපා. බයිබලය කියන්නේ **ශුද්ධ ග්‍රන්ථයක්.** එය කිතුනු අපේ **පූජනීය ග්‍රන්ථය** යි. අපි එයට කියන්න ඕනේ **ශුද්ධ බයිබලය** කියල. එහි **දේව වචනය** අඩංගු වෙලා තියනවා. එම නිසා අපි ශුද්ධ බයිබලය ගෞරවාන්විත ව තැන්පත් කරන්නත් පරිහරණය කරන්නත් ඕනේ; ඒ වගේ ම අත් දෙකෙන් ම අරගෙන දෙන්නත් පුරුදු වෙන්න ඕනේ.

මල්ලී :- එතකොට ශුද්ධ බයිබලය පොත් රාක්කේ තියන්නේ නැද්ද අක්කේ?

අක්කා :- ඔව් මල්ලී, අපි වෙනත් පොතක්වත් ශුද්ධ බයිබලය උඩ තියන්න හොඳ නැහැ. වෙන ම තැනක, පිරිසිදු ව මල් තියලා, පහනක් තියලා, තියන්න ඕනේ. අපිත් එහෙම කරමු.

මල්ලී :- ශුද්ධ බයිබලය මෙච්චර ලොකු පොතක් වුණේ කොහොමද අක්කේ?

අක්කා :- ශුද්ධ බයිබලයේ ගැලවීමේ ඉතිහාසය පිළිබඳ ව තොරතුරු ඇතුළත් වෙනවා. එය හරියට පුස්තකාලයක් වගේ මල්ලි; එහි පොත් 73ක් තියනවා. එය **පැරණි ගිවිසුම** හා **නව ගිවිසුම** යනුවෙන් ප්‍රධාන කොටස් දෙකකට බෙදන්නත් පුළුවන්.

මල්ලී :- ඇයි අක්කේ, එහෙම කොටස් දෙකක් තියෙන්නේ?

අක්කා :- පුරාණ ගිවිසුමේ ක්‍රිස්තුන් වහන්සේ ඉපදීමට පෙර යුගය ගැන විස්තර තියනවා. නව ගිවිසුමේ සඳහන් වන්නේ ක්‍රිස්තුන් වහන්සේ හා මුල් සභාව පිළිබඳ ව යි. දෙවියන් වහන්සේ ඓතිහාසික සිදුවීම් ආදිපිතෘවරුන් හා දිවැසිවරුන් මගින් අනාවරණය කළ ආකාරය පැරණි ගිවිසුමේ අන්තර්ගත වෙනවා. එහි පොත් 46ක් තිබෙනවා. නව ගිවිසුමේ සඳහන් වන්නේ, ක්‍රිස්තුන් වහන්සේ තුළින් දෙවියන් වහන්සේගේ අනාවරණයේ පූර්ණත්වය සිදු වූ ආකාරය යි. ඔවුන් වහන්සේ කරණ කොට ගෙන මිනිස් සංහතියට ම ගැලවීම උදා වූ ආකාරයත් එහි ඇතුළත් වෙනවා. නව ගිවිසුමේ පොත් 27ක් ඇතුළත් වෙනවා. එය අවුරුදු 1000කටත් වැඩි කාලයක් තුළ කතුවරුන් ගණනාවකගේ දායකත්වයෙන් ලියා තියනවා.

මල්ලී :- එතකොට ශුද්ධ බයිබලය බොහොම වටිනා පොතක් නේද?

අක්කා :- ඔව්, කිතුනු අපගේ ජීවිතයේ **විශ්වාසයේ හා බලාපොරොත්තුවේ පදනම** වන්නේ **ශුද්ධ බයිබලය** යි. ඒ නිසා සැම කිතුනු නිවසක ම **ශුද්ධ බයිබලය** තියෙන්න ඕනේ.

## ශුද්ධ බයිබලය

### පැරණි ගිවිසුම

1. උත්පත්ති
2. නික්මයාම
3. ලෙවී ව්‍යවස්ථාව
4. ගණන් කථාව
5. ද්විතීය නීති සංග්‍රහය
6. ජෝෂුවා
7. වීරාවලිය
8. රූත්ගේ කථාව
9. 1 සාමුවෙල්
10. 2 සාමුවෙල්
11. 1 රාජාවලිය
12. 2 රාජාවලිය
13. 1 වංශාවලිය
14. 2 වංශාවලිය
15. එස්රා
16. නෙහෙමියා
17. එස්තර්
18. ජෝබ්
19. ගීතාවලිය
20. හිතෝපදේශ
21. ධර්මදේශකයා
22. ප්‍රේම ගී
23. යෙසායා
24. ජෙරමියා
25. විලාප ගී
26. එසකියෙල්
27. දානියෙල්
28. හොසියා
29. ජෝවෙල්
30. ආමොස්
31. ඔබදියා
32. ජෝනා
33. මීකා
34. නාහුම්
35. හබක්කුක්
36. ශෙපනියා
37. හග්ගයි
38. සෙකරියා
39. මලාකි
40. තෝබිත්
41. ජුදිත්
42. සලමොන්ගේ ප්‍රඥාව
43. උපදේශකයා (සිරාක්)
44. බාරුක්
45. 1 මකබිවරු
46. 2 මකබිවරු

### නව ගිවිසුම

1. ශු. මතෙව්
2. ශු. මාක්
3. ශු. ලූක්
4. ශු. ජොහන්
5. අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා
6. රෝම
7. 1 කොරින්ති
8. 2 කොරින්ති
9. ගලාති
10. එපීස
11. පිලිප්පි
12. කොලොස්සි
13. 1 තෙසලෝනික
14. 2 තෙසලෝනික
15. 1 තිමෝති
16. 2 තිමෝති
17. තීතස්
18. පිලමොන්
19. හෙබ්‍රෙව්
20. ජාකොබ්
21. 1 පේදුරු
22. 2 පේදුරු
23. 1 ජොහන්
24. 2 ජොහන්
25. 3 ජොහන්
26. ජුද්
27. එළිදරව්ව

## ක්‍රියාකාරකම

1. ශුද්ධ බයිබලයේ ප්‍රධාන කොටස් දෙක නම් කරන්න.
2. පැරණි ගිවිසුමේ පොත් **හතරක්** නම් කරන්න.
3. නව ගිවිසුමේ ශුභාරංචි **හතර** නම් කරන්න.
4. ශු. බයිබලයේ උත්පත්ති පොත පෙරළා එහි මුල සඳහන් වන හැඳින්වීම කියවන්න.

## පැවරුම

- ඔබේ නිවසේ ඇති ශුද්ධ බයිබලය ගෞරවාන්විත ව වැඩම කර තැබීමට සුදුසු ස්ථානයක් සූදානම් කරන්න.
- දිනපතා පවුලේ යාච්ඤාවේ දී බයිබලයෙන් කොටසක් කියවා භාවනා කිරීමට පුරුදු වන්න.



**ජීවිතයට බිඳක්**

***දේව වචනය මනසට හා හදවතට ඇතුළුකර ගනිමු; අදහා ගනිමු; නමස්කාර කරමු. අපි දේව වචනය අනුව ජීවත් වෙමු.***

# 2 පංච පුස්තකය

පංච පුස්තකය යනුවෙන් හඳුන්වන්නේ, ශුද්ධ බයිබලයේ පළමු පොත් පහ යි. පංච පුස්තකය විවිධ නම්වලින් හඳුන්වනු ලබයි. ඒවා නම්;

* ව්‍යවස්ථාවලිය
* මෝසෙස් තුමාගේ ව්‍යවස්ථාව
* නීතිය
* මෝසෙස් තුමාගේ නීතිය

හෙබ්‍රෙව් බසින් මෙම පොත් පහ, "ටෝරා" යනුවෙන් නම් කෙරේ. පංච පුස්තකය ලෙස නම් කරන පොත් පහ මෙසේ ය.




## උත්පත්ති පොත

මෙය ශුද්ධ බයිබලයේ පළමු පොත යි. දෙවි පියාණන් වහන්සේගේ අපරිමිත ආදරය හා කරුණාව නිසා මිනිසා මැවීම, පාපයට වැටුණු මිනිසා ගැලවීම සඳහා "ඉශ්‍රායෙල්" ජනතාව තෝරා ගැනීම හා ඔවුන්ගේ පියවරුන්ට දුන් පොරොන්දු ඉටු කිරීම ආදිය මෙහි විස්තර වී ඇත. එය කියවා, දෙවි පියාණන් වහන්සේගේ ආදරය තේරුම් ගෙන, අපි එකිනෙකාට ආදරයෙන් කටයුතු කළ යුතු බව තේරුම් ගනිමු.

### උත්පත්ති පොතේ ඇතුළත් කරුණු කෙටියෙන්

★ දෙවියන් වහන්සේ විශ්වය හා මිනිසා මැවීම
★ ආදම් හා ඒව පාපයට වැටීම
★ කායින් හා ආබෙල් පිළිබඳ කතා පුවත
★ නෝවා හා ජල ගැල්ම
★ මිනිසා ඉදි කළ බාබෙල් කොත
★ ආදිපිතෘ ආබ්‍රහම් තුමා, ඊසාක් තුමා, ජාකොබ් තුමා සහ ජනනායක ජෝසෙප් තුමා යන අය දෙවි පියාණන් වහන්සේ කෙරෙහි තැබූ විශ්වාසය.

## නික්මයාම පොත


2.1 රූපය - නික්මයාම

ශුද්ධ බයිබලයේ ඇතුළත් දෙවන පොත යි. ඉශ්‍රායෙල් ඉතිහාසයේ කේන්ද්‍රීය සිද්ධිය වන මිසරයේ වහල්කමින් නිදහස ලබා, පොරොන්දු දේශය කරා "නික්මයාම" මුල් කරගෙන ලියවී ඇත. මෝසෙස් තුමා මෙහි ප්‍රධාන චරිතය යි. නික්මයාම ගමන තුළ දෙවියන් වහන්සේගේ ආදරය හා ආරක්ෂාව ඉශ්‍රායෙල් ජනතාව අත්දුටු ආකාරය මෙහි විස්තර වේ. "සීනයි" ගිවිසුම තුළින් "දස පනත" ලබා දී දෙවියන් වහන්සේගේ ම ජනතාව ලෙස "ඉශ්‍රායෙල්" ජනයා පිළිගත් බව ද මෙහි සඳහන් වේ.

### නික්මයාම පොතේ කරුණු කෙටියෙන්

★ පාරාවෝ රජතුමා ඉශ්‍රායෙල් ජනයාට හිරිහැර කිරීම
★ දෙවියන් වහන්සේ ඉශ්‍රායෙල් ජනතාව පාරාවෝ රජුගෙන් ගලවා ගෙන පොරොන්දු දේශයට ගෙන යාම
★ එම ගමන අතරතුර සීනයි කන්දේ දී දස පනත ලබා දීම
★ මෝසෙස් තුමාගේ දූත මෙහෙවර

ඉශ්‍රායෙල් ජනයා අත්දුටු ආකාරයට ම දේව ආදරය අපටත් අත්දැකීමට ආරාධනා කරයි. තව ද ඔවුන් වහන්සේට අපේ ආදරය දැක්විය යුතු බව මතක තබා ගනිමු.

**ක්‍රියාකාරකම**

(1) මෙම සටහන අභ්‍යාස පොතේ පිටපත් කර, සම්පූර්ණ කරන්න.




(2) (i) පංච පුස්තකයේ පොත් පහට අමතර ව ශුද්ධ බයිබලයේ අඩංගු වෙනත් පොත් **පහක්** නම් කරන්න.

(ii) ශුද්ධ බයිබලය පෙරළා, උත්පත්ති පොතේ හැඳින්වීම කියවා, එය වාක්‍ය **පහකින්** ලියන්න.

(iii) ශුද්ධ බයිබලය පෙරළා, නික්මයාම පොතේ හැඳින්වීම කියවා, එය වාක්‍ය **පහකින්** ලියන්න.



***ජීවිතයට බිඳක්***

*සියල්ල මැවූ දෙවි පියාණන්ට ප්‍රශංසා කරන්න.*

# 3 ශුභාරංචි හතර

ශුද්ධ බයිබලයේ නව ගිවිසුමේ ඇතුළත් ග්‍රන්ථ 27න් පළමු ග්‍රන්ථ හතර "ශුභාරංචි" යනුවෙන් හැඳින්වේ. ඒවා ලියන ලද කතුවරුන්ගේ නමින් ඒවා හඳුන්වනු ලබයි. ක්‍රිස්තුන් වහන්සේගේ උපත, සේවය, ඉගැන්වීම්, උකුත්වීම හා උත්ථානය ආශ්‍රයෙන් මෙම ග්‍රන්ථ ලියවී ඇත. ඒවා ක්‍රිස්තුන් වහන්සේ පිළිබඳ කරුණු ඇතුළත් ප්‍රධාන මූලාශ්‍ර හතරක් ලෙස පිළිගැනේ. ඒවා නම්;

1. ශු. මතෙව් තුමා විසින් ලියන ලද මතෙව් ශුභාරංචිය
2. ශු. මාක් තුමා විසින් ලියන ලද මාක් ශුභාරංචිය
3. ශු. ලූක් තුමා විසින් ලියන ලද ලූක් ශුභාරංචිය
4. ශු. ජොහන් තුමා විසින් ලියන ලද ජොහන් ශුභාරංචිය

## 1. මතෙව් ශුභාරංචිය



3.1 රූපය - ශු. මතෙව් තුමා



3.2 රූපය - සංකේතය මිනිසා

ශු. මතෙව් තුමා ජේසුස් වහන්සේගේ අපෝස්තුලුවරුන් දොළොස්දෙනාගෙන් කෙනෙකි. කැඳවීමට පෙර එතුමා අය බදු එකතු කළ අයකැමියෙකි. තම කැඳවීමෙන් පසු ජේසුස් වහන්සේගේ ප්‍රසිද්ධ ජීවිතයේ කොටස්කරුවකු වී ඔවුන් වහන්සේ ව අත්දුටුවේ ය. දිවැස්වැකි බහුල ව ඇතුළත් කර, බලාපොරොත්තු වූ "මෙසියස් වහන්සේ" ක්‍රිස්තුන් වහන්සේ බව පෙන්වා දී ඇත. ජේසුස් වහන්සේගේ වංශාවලියෙන් ශුභාරංචිය ආරම්භ කර ඇති බැවින් මෙම ශුභාරංචියේ සංකේතය, "මිනිසා" ය.

## 2. මාක් ශුභාරංචිය



3.3 රූපය - ශු. මාක් තුමා



3.4 රූපය - සංකේතය සිංහයා

ශු. මාක් තුමා ජේසුස් වහන්සේගේ අපෝස්තුලුවරයෙක් නොවේ. එතුමා ශු. පේදුරු තුමාගේ ගෝලයෙකි. ජොහන් මාක් යනුවෙන් ද හඳුන්වනු ලැබූ මෙතුමා, පේදුරුතුමාගේ භාෂා පරිවර්තකයා ලෙස ද කටයුතු කර ඇත. එම නිසා ජේසුස් වහන්සේ පිළිබඳ බොහෝ තොරතුරු පේදුරු තුමාගෙන් දැනගන්නට ඇතැයි සිතිය හැකි ය. ස්නාවක ජොහන් තුමාගේ ගාම්භීර (මාක් 1:3) දේශනය පිළිබඳ විස්තරයෙන් ආරම්භ කර ඇති බැවින් මෙම ශුභාරංචියේ සංකේතය වන්නේ "සිංහයා" ය

## 3. ලූක් ශුභාරංචිය



3.5 රූපය - ශු. ලූක් තුමා



3.6 රූපය - සංකේතය ගවයා

ශු. ලූක් තුමා ක්‍රිස්තුන් වහන්සේගේ අපෝස්තුලුවරයෙක් නොවේ. එතුමා වෛද්‍යවරයෙකි; ඉතිහාසඥයෙකි; චිත්‍ර ශිල්පියෙකි. ශුභාරංචියක් ලියන ලද

එක ම "අන්‍ය ජාතිකයා" ලූක් තුමා ය. එතුමා පාවුලු තුමා සමග ධර්මදූත සේවයේ නියැලී ඇත. විවිධ මූලාශ්‍රවලින් තොරතුරු සොයා, මෙම ශුභාරංචිය සම්පාදනය කර ඇත. ගීතිකා, යාච්ඤා හා කාන්තාවන් පිළිබඳ තොරතුරු ද වැඩිපුර මෙහි ඇතුළත් කර ඇත.

ජුදෙව් ජාතිකයන්ගේ පමණක් නොව සියලු ජාතීන්ගේ ගැලවුම්කරුවා, ක්‍රිස්තුන් වහන්සේ බව මෙමගින් පෙන්වා දෙයි. සකරියස් තුමාගේ පූජාවෙන් ශුභාරංචිය ආරම්භ කර ඇත. එකල පූජා කරනු ලැබුවේ සතුන් බැවින් මෙම ශුභාරංචියේ සංකේතය වන්නේ, "ගවයා" ය.

## 4. ජොහන් ශුභාරංචිය



3.7 රූපය - ශු. ජොහන් තුමා



3.8 රූපය - සංකේතය රාජාලියා

ශු. ජොහන් තුමා ජේසුස් වහන්සේගේ අපෝස්තුලුවරයෙකි. එතුමාගේ සහෝදරයා වූ මහා ජාකොබ් තුමා ද ජේසුස් වහන්සේගේ අපෝස්තුලුවරයෙකි. මේ දෙදෙනා ක්‍රිස්තුන් වහන්සේ කැඳවීමට පෙර ධීවරයෝ වූහ. සෙබදි හා සලෝමි ඔවුන්ගේ දෙමාපියෝ ය. මරිය තුමී සලෝමිගේ ඥාතිවරියකි. එබැවින් මේ දෙදෙනා ජේසුස් වහන්සේගේ ඥාති සහෝදරයෝ වූහ. තේරුම් ගැනීමට අපහසු සංකල්පනාවකින් මෙය ආරම්භ කර ඇති නිසා, මෙම ශුභාරංචියේ සංකේතය "රාජාලියා" ය.

ක්‍රිස්තුන් වහන්සේ මෙලොවට පැමිණීම ශුභාරංචියකි. මන්ද, ඔවුන් වහන්සේ මෙලොවට සපැමිණියේ, මනුෂ්‍ය සංහතියට ගැලවීම ලබා දීම පිණිස ය.

## ක්‍රියාකාරකම්

(1) හිස්තැන් පුරවන්න.

(මාක් , ලූක් , මතෙව්, ගවයා, සිංහයා, ජොහන්, ජාකොබ් තුමා)

1. ශු. .............. තුමා වෛද්‍යවරයෙකි.
2. ජේසුස් වහන්සේගේ අපෝස්තුලුවරයෙක් වූ .............. තුමාගේ ශුභාරංචිය නව ගිවිසුමේ මුලින් ම ඇත.
3. මාක් ශුභාරංචියේ සංකේතය වන්නේ ............... ය.
4. රාජාලියකුගෙන් සංකේතවත් කරන්නේ ................................ ශුභාරංචිය යි.
5. සුවිශේෂක ජොහන් තුමා .............................. තුමාගේ සහෝදරයෙකි.

(2) පහත අවස්ථාවල දී ඔබ අන්‍යයන්ට ශුභාරංචියක් වන අයුරු ලියන්න.

i. පංතියේ දුකට පත් අසරණ මිතුරකුට/මිතුරියකට
ii. විද්‍යාව පාඩම අමාරු මිතුරකුට/මිතුරියකට
iii. ඔබේ පියා විදේශගත වී ඇති විට මවට හා සහෝදර සහෝදරියන්ට

## පැවරුම්

- ශු. බයිබලය ගෙන, ශුභාරංචි හතර පෙරළා, ඒවායෙහි හැඳින්වීම් කියවා, එහි ඇතුළත් කරුණු අඩංගු පොත් පිංචක් සකස් කරන්න.



*ජීවිතයට බිඳක්*

*සැම විට ම අන් අයට ශුභාරංචියක් වන්න උත්සාහ කරන්න.*

# 4 ලෝකය මැවීමේ පුවත



4.1 රූපය - දේව මැවිල්ල

දෙවියන් වහන්සේ ලෝකයේ මැවුම්කරුවාණෝ ය. අපට ඇති අසීමිත ආදරය නිසා ආශ්චර්යමත් හා විවිධත්වයෙන් යුත් දේව මැවිලි අපට ලබා දී ඇත. එම නිසා දේව මැවිල්ලට අපි ආදරය කළ යුතු වෙමු.

තම වචනයේ බලයෙන් දෙවියන් වහන්සේ ලෝකය මැවූ අයුරු ශුද්ධ බයිබලයේ උත්පත්ති පොතේ සඳහන් වේ. එම බයිබල් පාඨ කියවා බලමු.

## දවාල හා රාත්‍රිය

පොළොව හිස් ව පාළු ව තිබිණි. මහ සයුර මත **අන්ධකාරයක්** විය. දේවාත්මානුභාවය ජලය මතු පිට හැසුරුණේ ය. එවිට දෙවියන් වහන්සේ, **"ආලෝකය වේවා!"** යි වදාළ සේක; **ආලෝකය** විය. ආලෝකය මනහර බව උන් වහන්සේ දුටු සේක. උන් වහන්සේ අන්ධකාරයෙන් ආලෝකය වෙන් කර ආලෝකයට **"දවාල"** කියා ද, අන්ධකාරයට **"රාත්‍රිය"** කියා ද නම් තැබූ සේක. ....... ඒ **පළමු වන දවස** ය. (උත්පත්ති 1:2-5)

## අහස හා ජලය

ඉන්පසු දෙවියන් වහන්සේ, "ජලය ස්ථාන දෙකක වෙන් වෙන් ව පවතින පිණිස එය වෙන් කරන අහස් කුස වේවා!"යි වදාළ සේක. එසේ ම විය. මෙසේ උන් වහන්සේ අහස් කුස සාදා ඊට යටින් තිබෙන **ජලය,** ඊට උඩින් තිබෙන ජලයෙන් වෙන් කර අහස් කුසට "**අහස**" කියා නම් තැබූ සේක. ..... ඒ **දෙවන දවස** ය.

(උත්පත්ති 1:6-8)

## ගොඩබිම හා ගස් කොළන්

ඉන්පසු දෙවියන් වහන්සේ "ගොඩබිම මතු වන පිණිස අහස යට තිබෙන ජලය එක තැනකට රැස් වේවා!" යි වදාළ සේක. එසේ ම විය. **ගොඩබිමට** "පොළොව" කියා ද, **ජලයට** "සාගරය" කියා ද උන් වහන්සේ නම් තැබූ සේක. ....... දෙවියන් වහන්සේ "බීජ උපදවන ඇට සහිත ඵල දරන, සියලු වර්ගවල **ගස්කොළන්** භූමියේ හටගැනේ වා!" යි වදාළ සේක. එසේ ම විය. මෙසේ භූමිය බීජ උපදවන, ඇට සහිත ඵල දරන, සියලු වර්ගවල ගස් කොළන් නිපදවීය. ......... ඒ **තුන් වන දවස** ය.

(උත්පත්ති 1:9-13)

## ඉර, හඳ හා තාරකා

මෙසේ දෙවියන් වහන්සේ ප්‍රධාන ආලෝක දෙකක් එනම් දවාල පාලනය කිරීම සඳහා **ලොකු ආලෝකය** ද රාත්‍රිය පාලනය කිරීම සඳහා **කුඩා ආලෝකය** ද සෑදූ සේක; **තාරකා** ද සෑදූ සේක. දෙවියන් වහන්සේ මේ ආලෝකයන් අහසේ තැබුවේ පොළොවට ආලෝකය දීම සඳහාත්, දවාල හා රාත්‍රිය පාලනය කිරීම සඳහාත් අඳුරින් ආලෝකය වෙන් කිරීම සඳහාත් ය. ........ ඒ **සතර වන දවස** ය.

(උත්පත්ති 1:16-19)

## පක්ෂීන් හා මසුන්

මෙසේ දෙවියන් වහන්සේ දැවැන්ත **තල් මසුන්** ද ඔබමොබ පීනන නන් වැදෑරුම් **ජලජ සතුන්** ද නන් වැදෑරුම් **පක්ෂීන්** ද මැවූ සේක. ........ තව ද දෙවියන් වහන්සේ ඔවුන්ට ආසිරි පතමින්, "බෝ වී වැඩි වර්ධනය වී මුහුදු ජලය පුරා පැතිරෙත් වා! කියා ද, "පක්ෂීහු පොළොවේ බෝවෙත් වා!" කියා ද පැවසූ සේක. ....... **ඒ පස් වන දවස** ය.

(උත්පත්ති 1:21-23)

## සතුන් හා මිනිසා

දෙවියන් වහන්සේ, "විවිධ **ගවමහීෂයන්** ද **උරගයන්** ද වන මෘගයන් ද යන **ජීවමාන සත්ත්වයෝ** පොළොවෙන් නිපදෙත් වා!" යි වදාළ සේක. එසේ ම විය. ........ දෙවියන් වහන්සේ තම ස්වරූපය අනුව **මිනිසා** මැවූ සේක; දෙවියන් වහන්සේගේ ම ස්වරූපය අනුව ඔවුන් මවා වදාළ සේක. පුරුෂයා ද ස්ත්‍රිය ද වශයෙන් ඔවුන් මැවූ සේක. ......... **ඒ සය වන දවස** ය.

(උත්පත්ති 1:24-27)

ඉහතින් දක්වා ඇති ශුද්ධ බයිබලයේ උත්පත්ති පොතේ පාඨයන්ගෙන් අපට දැනගත හැක්කේ, දෙවියන් වහන්සේ දින හයක් තුළ ලෝකය මැවූ බව ය. මේ සියලු මැවිලි දේව නිර්මාණ බව ශුද්ධ බයිබලයේ ගීතාවලිය පොතේ 104 පරිච්ඡේදයෙන් ද අපට පැහැදිලි කර දෙයි.

දෙවියන් වහන්සේ මුළු විශ්වය නිර්මාණය කිරීමේ දී මිනිසාගේ සියලු අවශ්‍යතා ගැන සැලකිලිමත් වූ සේක. එදිනෙදා ජීවිතය පවත්වා ගෙන යාමට අවශ්‍ය දෑ මැවිල්ල තුළ ඇති කළ සේක. මිනිසාට ජීවත් වීමට අවශ්‍ය පරිසරය ද ලබා දුන් සේක.

දෙවියන් වහන්සේගේ උතුම් ම මැවිල්ල වූ අපි, සැම විට ම දේව මැවිල්ල අගය කිරීමට අදිටන් කර ගනිමු. මේ උතුම් වූ ලෝකය මවා දුන් දෙවි පියාණන්ට තුති ප්‍රශංසා කරමු.

**ක්‍රියාකාරකම**

(1) පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| දිනය | මැවිලි |
|---|---|
| 1 වන දිනය | |
| 2 වන දිනය | |
| 3 වන දිනය | |
| 4 වන දිනය | |
| 5 වන දිනය | |
| 6 වන දිනය | |

(2) දෙවියන් වහන්සේ මිනිසා මැව්වේ කීවෙනි දවසේ ද?

(3) දේව මැවිල්ල ගැන කියැවෙන ගීතිකාවක් ලියන්න.

(4) පහත පින්තූරය දෙස බලන්න. මේ දේව නිර්මාණය කොතරම් අගනේ ද? ශුද්ධ බයිබලයේ ගීතාවලිය පොතේ 104 පරිච්ඡේදයේ 8-13 වගන්ති කියවා දේව නිමැවුමේ අසිරිය අගයමින් කවි පෙළක් නිර්මාණය කරන්න.



4.2 රූපය - දේව නිර්මාණයක්

(5) ශුද්ධ බයිබලයේ ගීතාවලිය පොතේ 104 පරිච්ඡේදයේ 14-18 වගන්ති හා 33-34 වගන්ති කියවා, එහි ඇති අදහස් අනුව මිනිසාට අවශ්‍ය පරිසරය ලබා දුන් දෙවි පියාණන් වහන්සේට ස්තුති කරමින් යාච්ඤාවක් ලියන්න.

(6) ශුද්ධ බයිබලයේ ගීතාවලිය පොතේ 104 පරිච්ඡේදයේ 19-30 වගන්ති හොඳින් කියවා, එහි ඇති අදහස් චිත්‍රයකට නඟන්න.



**ජීවිතයට බිඳක්**

- ★ *දේව මැවිල්ල අගය කරමු.*
- ★ *සතුන්ට හා ගහකොළට ආදරය කරමු.*
- ★ *නිවස හා පාසල අලංකාරවත් ලෙස පවත්වා ගනිමු.*
- ★ *දේව මැවිල්ලේ අසිරිය බලා දෙවි පියාණන් වහන්සේට තුති ප්‍රශංසා කරමු.*

# 5 විවිධාකාර දේව මැවිල්ල



5.1 රූපය - උයනක්

මෙම විරිඳු පෙළ තාලයට ගායනා කරන්න.

1. නුඹලා දරු සම්පත් ලැබ - පොළෝ තලය යටතට ගෙන
බලය පවත්වන්න කියා - දෙවි සමිඳුන් පැවසූ සේක//

2. බීජ සහිත ධාන්‍ය ඵල - දරනා සැම ගස් පැළැටි
නුඹලාගේ අහර පිණිස - වේවා පැවසූ දෙවිඳුන්//

3. ඒදන්හී උයන තනා - මිනිසා එහි පදිංචි කර
වගා කරලා රැක බලන්න - දෙවි සමිඳුන් භාර කළා//

4. දෙවිඳු මැව්ව සැම දේට ම - වඩා උතුම් මිනිස් දිවිය
ගුණ දහමින් පිරිලා අපි - ගරුසරු දක්වා සුරකිමු //

5. කුරුලු රැන් සමනළයින් - මාළු පැටව් සියලු සතුන්
ලෝකය ලස්සන කරනවා - තුති දෙමු සැමදා රැකගමු//

6. ජලයෙන් විදුලිය ලබනවා - මුහුදු වතුර ලුණු හදනවා
ගස් පැළෑටි බෙහෙත් දෙනවා - දෙවි ආසිරි අප ලබනවා//

7. ඇළ දොළ ගංගා දිය ඇලි - අප කෙත් වතු සරු කරනවා
නෑම බීම සඳහා ගන්න - පිරිසිදු බව රැක ගතයුතු//

8. නොදිරන දෑ ඈත් කරමු - දිරනා කුණු එකට ගනිමු
පොහොර සදා පස සරු කර - වගා වැඩට සහයක් දෙමු//

9. ගස් සිටවා මල් හදලා - එළවළු පලතුරු වවලා
පාසල නිවස ද පල්ලිය - හරි ලස්සන තැනක් කරමු//

10. අයියා අක්කා නංගී මල්ලී - මව්පියො අපි සැම එක් වෙමු
පරිසර හිතකාමී වෙමින් - ලෝකය ලස්සන කරවමු//



5.2 රූපය - ආදම් සහ ඒව

ආදම් සහ ඒවට දෙවියන් වහන්සේ පවසන්නේ කුමක් දැයි බලමු.

දෙවියන් වහන්සේ ඔවුන්ට ආසිරි පතමින්, "නුඹලා දරුසම්පත් ලබා, වැඩි වර්ධනය වී, පොළොව පුරා පැතිර එය යටත් කරගන්න. මුහුදේ මසුන් කෙරෙහි ද පොළොවේ සැරි සරන සියලු සතුන් කෙරෙහි ද බලය පවත්වන්නැ"යි ඔවුන්ට වදාළ සේක. තවද, උන් වහන්සේ, "මුළු පොළෝ තලයෙහි ධාන්‍ය දරන සියලු පැළෑටි ද බීජ සහිත ඵල දරන සියලු ගස් ද නුඹලාගේ ආහාර පිණිස වේවා!"

ඒදන් උයන වගා කර එය රැක බලා ගැනීම පිණිස දෙවි සමිඳාණන් වහන්සේ මිනිසා රැගෙන ඔහු එහි පදිංචි කරවූ සේක.
(උත්පත්ති 1:28-29 හා 2:15)

දෙවියන් වහන්සේ මිනිසාට ආදරය නිසා, ඔවුන් වහන්සේ මිනිසාට පැවරූ වගකීම් කිහිපයක් ඉහත ශුද්ධ ලියවිලි පාඨවලින් ඉදිරිපත් කරයි. ඒවා නම්;

1. දරු සම්පත් ලැබීමට
2. පොළොව පුරා පැතිර යාමට
3. මාළුන්, කුරුල්ලන්, සියලු සතුන් යනාදිය පාලනය කිරීම හෙවත් රැක බලා ගනිමින්, වර්ධනය කරමින්, මානව අවශ්‍යතා සඳහා යොදා ගැනීමට
4. පොළොව වගා කිරීමට
5. වගාවෙන් ලැබෙන අස්වැන්න ප්‍රයෝජනයට ගැනීමට.

දෙවියන් වහන්සේ මිනිසාට මේ ලෝකය භාර දුන්නේ, මැවිල්ල වර්ධනය කර ඉන් නිසි ප්‍රයෝජන ගැනීම සඳහා ය. එය අපගේ වගකීම යි. දේව මැවිල්ල ආරක්ෂා කිරීම මිනිසා සතු වගකීමකි. එහෙත් අද මිනිසා මැවිල්ල ආරක්ෂා කිරීමට අපොහොසත් වී ඇත.

උදාහරණ :- පරිසර දූෂණය, වනාන්තර විනාශය, පොලිතින් භාවිතය, කැලි කසළ ක්‍රමවත් ව බැහැර නොකිරීම, වායු දූෂණය, ජල දූෂණය

සම්පත් සංරක්ෂණය කිරීම හා වැඩි දියුණු කිරීම අත්‍යවශ්‍ය ය. එම නිසා දේව මැවිල්ල සුරැකීමට අවැසි පියවර ගැනීමට උනන්දුවෙන් කටයුතු කරමු. විවිධාකාර දේව මැවිලි අපට ලබා දුන් දෙවියන් වහන්සේට තුති ප්‍රශංසා කරමු.

## ක්‍රියාකාරකම

(1) විරිඳු පෙළ ඇසුරින් මෙම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. දෙවියන් වහන්සේ මිනිසාට පැවසූ දේවල් **දෙකක්** ලියන්න.
2. දෙවියන් වහන්සේ ආදම් සහ ඒව පදිංචි කළ උයන නම් කරන්න.
3. දේව මැවිල්ලෙන් මිනිසාට ඇති ප්‍රයෝජන **තුනක්** ලියන්න.
4. අප රැක ගත යුතු දේව මැවිලි **පහක්** ලියන්න.
5. විරිඳු පන්තියෙන් ඔබට ලැබෙන පණිවිඩ **තුනක්** ලියා දක්වන්න.

(2) ඔබ නිවස හා පාසල පවිත්‍ර ව තබා ගැනීමට ඔබට කළ හැකි කාර්යයන් **පහක්** ලියන්න.

(3) පරිසරය අලංකාර කිරීමට ඔබට කළ හැකි කාර්යයන් **පහක්** ලියන්න.

## පැවරුම

- බිත්ති පුවත් පතක් සැකසීම සඳහා, පහත සඳහන් මාතෘකා අනුව, ලිපි/ චිත්‍ර/ දෙබස්/ චිත්‍ර කථා/ කවි/ විරිඳු/ ආදර්ශ පාඨ/ රචනා/ යාච්ඤා නිර්මාණය කරන්න.
  1. දේව මැවිල්ලෙන් මිනිසාට ඇති ප්‍රයෝජන
  2. දේව මැවිල්ල වර්ධනය කර ගත හැකි ආකාර
  3. දේව මැවිල්ල ආරක්ෂා කර ගත හැකි ආකාර
  4. දේව මැවිල්ලට තුති පුදමින් යාච්ඤා



**ජීවිතයට බිඳක්**

★ *කුණු කසළ නියමිත ස්ථානවල දමමු.*

★ *පොලිතින් භාවිතය අවම කරමු.*

★ *ජලය අරපිරිමැස්මෙන් භාවිත කරමු.*

★ *ගෙවත්තේ ප්‍රයෝජනවත් පැළ සිටවමු.*

★ *දේව මැවිල්ල දායාද කළ දෙවි සමිඳුන්ට සැම විට තුති ප්‍රශංසා කරමු.*

# 6 උතුම් ම දේව මැවිල්ල



6.1 රූපය - රොබෝ යන්ත්‍රය

"මගේ උපත සිදු වුණේ, මීට අවුරුදු ගණනකට පෙර, විද්‍යාගාරයක ය. උපත කිව්වට, මම මව්කුසින් මෙලොව එළිය දුටුවේ නෑ. මට දෙමව්පියන්, සහෝදර සහෝදරියන් නෑ. මාව නිර්මාණය කළේ දක්ෂ ඉංජිනේරුවන් පිරිසක්. මනුෂ්‍යයා මාව විවිධ කාර්යයන් සඳහා යොදා ගන්නවා. වෛද්‍ය විද්‍යාවේ හා ජීව විද්‍යාවේ වගකීම් දැරීම, බෝම්බ නිෂ්ක්‍රීය කිරීම, සඳට යෑම, මිනිසාට ළඟා විය නොහැකි සියුම් තැන්වලට ගොස් තොරතුරු රැස් කිරීම ආදිය ඒවායින් කිහිපයක්. එහෙත් ඒ කාර්යයන් කිසිවක් මගේ තීරණ මත කරන දේවල් නොවෙයි. මනුෂ්‍යයා මා තුළට ඇතුළු කරන දත්ත නිසා තමයි මා ක්‍රියාත්මක වන්නේ. මා ඒ දේවලින් මොන තරම් අරුම පුදුම කාර්යයන් කළත් මාව කොහෙත්ම මනුෂ්‍යයාට සමාන කරන්න බෑ. මට මනසක් නෑ. බුද්ධියක් නෑ. හදවතක් නෑ. ඒ වගේ ම මගේ නිදහස් කැමැත්තෙන් මට කිසි ම දෙයක් කරන්න බෑ. ඒත් මනුෂ්‍යයා ඒ වගේ නෙමෙයි. මනුෂ්‍යයා කියන්නේ දේව මැවිල්ලක්, ඉතා ම උතුම් කෙනෙක්. ඒ උතුම්කම එක්ක බලන කොට මම අංශුමාත්‍රයක්වත් වටින්නේ නෑ. මනුෂ්‍යයා කියන්නේ ජීවමාන කෙනෙක්. ඒ ජීවමාන බව ඔහුට ලැබුණේ දෙවියන් වහන්සේගේ ජීවන හුස්ම තුළිනි. ඒත් මම අනිත් අය විසින් ක්‍රියාත්මක කරවනු ලබන යන්ත්‍රයක්. මෙතෙක් ඔබට කතා කළ මම, රොබෝ යන්ත්‍රයක් වෙමි."

## මිනිසා අන් මැවිලිවලට වඩා උසස් වීමට හේතු

### 1. දේව ස්වරූපය හා සමානකම

ඉන්පසු දෙවියන් වහන්සේ; "අපගේ **ස්වරූපය** අනුව අපගේ **සමානත්වය** ලෙස මනුෂ්‍යයා මවමු. ......"යි අණ කළ සේක. දෙවියන් වහන්සේ තම **ස්වරූපය** අනුව මිනිසා මැවූ සේක; දෙවියන් වහන්සේගේ ම **ස්වරූපය** අනුව ඔවුන් මවා වදාළ සේක. (උත්පත්ති 1:26-27)

දෙවියන් වහන්සේ මිනිසා මවා ඇත්තේ, තමන් වහන්සේගේ ම ස්වරූපය හා සමානකමට ය. දේව ජීවිතයට පංගුකාර වන්නේ, මිනිසා පමණි. දෙවියන් වහන්සේ දේව මැවිල්ල භාර දෙමින්, එය පාලනය කිරීමට, මෙහෙය වීමට සංරක්ෂණය කිරීමට හා වර්ධනය කිරීමට මිනිසාට පැවරූ සේක. දෙවියන් වහන්සේගේ මැවීමේ කාර්යයෙහි පංගුකාරයන් කර ගනු ලැබුවේ මිනිසා පමණි. මෙම කරුණුවලින් පෙනී යන්නේ, මිනිසා අන් මැවිලි සියල්ලට වඩා උතුම් බව ය.

### 2. මනුෂ්‍යයා මවා ඔහුගේ නාස් පුඩු තුළට ජීවන හුස්ම හෙළීම

දෙවි සමිඳාණන් වහන්සේ පොළොවේ දූවිල්ලෙන් මනුෂ්‍යයා මවා ඔහුගේ නාස් පුඩු තුළට **ජීවන හුස්ම** හෙළූ සේක.

(උත්පත්ති 2:7)

දූවිල්ලෙන් සැදූ මිනිසා, ජීවමාන පුද්ගලයකු වන්නේ, දෙවියන් වහන්සේ ජීවන හුස්ම හෙළූ නිසා ය. දෙවියන් වහන්සේ ජීවන හුස්ම හෙළුවේ මිනිසාට පමණි. සතුන් මැවීමේ දී එසේ කළේ නැත. එම නිසා මිනිසා අන් මැවිලි සියල්ලට වඩා උසස් වේ.

### 3. මිනිසා මැවූ දිනය "ඉතා" මනහර බව ප්‍රකාශ කිරීම

දෙවියන් වහන්සේ තමන් මවා වදාළ සියලු දේ නරඹා, එය ඉතා මනහර බව දුටු සේක. (උත්පත්ති 1:31)

අන් සියලු මැවිලි මැවූ පසු "එය මනහර" යයි පවසන දෙවියන් වහන්සේ මනුෂ්‍යයා මැවීමෙන් පසු පවසන්නේ "එය ඉතා මනහර" බව ය. මිනිසා මැවීමත් සමග දේව මැවිල්ල සම්පූර්ණ විය. අන් සියලු දේව මැවිලි දෙවියන් වහන්සේ ඇති කළේ මිනිසාගේ ප්‍රයෝජනය සඳහා ය.

### 4. මිනිසා සතුන් ව නම් කිරීම

මිනිසා සියලු ගවමහිෂයන්ට ද අහසේ පක්ෂීන්ට ද සියලු මෘගයන්ට ද **නම් තැබී** ය.

(උත්පත්ති 2:20)

මැවිල්ලේ සෑම සතෙකුට ම නම් තබනුයේ මිනිසා ය. එමගින් මිනිසාගේ සුවිශේෂත්වය හා උත්තරීතර බව පෙන්නුම් කරයි. මිනිසාට සියලු සත්ත්වයන් කෙරෙහි බලය ඇති බවත් අන් මැවිලිවලට වඩා උතුම් බවත් ඒ අනුව පැහැදිලි ය.

## පුද්ගල විවිධත්වය හා එකිනෙකාට ගරු කිරීම

මැවිලි අතරින් උතුම් ම මැවිල්ල මිනිසා ය. අප සියලු දෙනා සමාන නොවෙති. අප සතු හැකියාවන්, රුචි අරුචිකම්, දක්ෂතා, ශරීරයෙහි හැඩය හා පැහැය වෙනස් විය හැකි ය. අපගේ බුද්ධි මට්ටම් ද විවිධ ය. එමෙන් ම ස්ත්‍රී පුරුෂ වශයෙන් ද අප වෙනස් ය. අප රටේ සිංහල, දෙමළ, මුස්ලිම් හා බර්ගර් යනුවෙන් ප්‍රධාන ජාතීහු හතරක් සිටිති. ඔවුහු බෞද්ධ, හින්දු ඉස්ලාම් හා කතෝලික/ක්‍රිස්තියානි යන ප්‍රධාන ආගම් හතර අදහති.

එපමණක් නොව අප එකිනෙකාගේ හැකියා විවිධ ය. එම හැකියාවල විවිධත්වය පහත පින්තූරවලින් ද පෙන්නුම් කරයි.




6.2 රූපය - විවිධ පුද්ගල හැකියා

මෙලෙස මිනිස් සංහතිය තුළ විවිධත්වයක් පවතින්නේ දේව සැලැස්ම අනුව වන අතර එමගින් මැවිල්ලේ අගය වැඩි වේ. ඒ නිසා ම අපට අන් අයගේ සහයෝගය අවශ්‍ය වේ. තව ද අපි සියලු දෙනා ම දේව ස්වරූපය හා සමානකම ඇති දේව මැවිලි වෙමු. එම නිසා අපි සියලු දෙනා ම එකිනෙකාට ගරු කළ යුත්තෙමු. ස්ත්‍රී පුරුෂ විවිධත්වය තුළ පවා එකිනෙකාට ගරු කළ යුතු වෙමු. අප විවිධ ජාතිවලට අයත් වූවත් විවිධ ආගම්වලට අයත් වූවත් විවිධ භාෂා කථා කළත් පුද්ගල විවිධත්වයට ගරු කරමින් අපි එකිනෙකා සමග සාමයෙන් හා සහයෝගයෙන් ජීවත් විය යුතු වෙමු.

**ක්‍රියාකාරකම**

(1) හිස්තැන් පුරවන්න.

(ඉතා මනහර, ජීවන හුස්ම, තම ස්වරූපය, ගවමහීෂයන්ට දුවිල්ලෙන්)

i දෙවියන් වහන්සේ තමන් මවා වදාළ සියලු දේ නරඹා එය .................. බව දුටු සේක.

ii මිනිසා සියලු .................. ද අහසේ පක්ෂීන්ට ද සියලු මෘගයන්ට ද නම් තැබීය.

iii දෙවියන් වහන්සේ පොළොවේ .................. මනුෂ්‍යයා මවා වදාළ සේක.

iv දෙවියන් වහන්සේ .................. අනුව මිනිසා මැවූ සේක.

v දෙවියන් වහන්සේ මනුෂ්‍යයා මවා ඔහුගේ නාස් පුඩු තුළට .................. හෙළු සේක.

(2) අන් මැවිලිවලට වඩා මිනිසා උසස් වීමට හේතු **තුනක්** ලියන්න.

(3) කිතුනු ගී පොතේ 480 ගීතිකාව (කවුරු වුවත් ඔබ) කියවා, එම ගීතිකාවෙන් ඔබට ලැබෙන පණිවිඩ **තුනක්** ලියන්න.

(4) එකිනෙකාට ගරු කරමින් සහයෝගයෙන් හා සමගියෙන් ජීවත් වීමට නිවසේ දී පාසලේ දී හා සමාජයේ දී කළ හැකි කාර්යයන් **තුන** බැගින් ලියා දක්වන්න.



***ජීවිතයට බිඳක්***

★ *එකිනෙකාට ගරු කරමු.*

★ *සියල්ලන් අගය කරමු.*

★ *සියල්ලන්ට එක සමානව සලකමු.*

★ *අන් මතවලට ඇහුම්කන් දෙමු.*

★ *සහයෝගයෙන් වැඩ කරමු.*

# 7 ජේසුස් වහන්සේගේ උපත



7.1 රූපය - ජේසුස් වහන්සේගේ උපත

**පීටර්** : දරුවෙක් අඬන හඬක් ඇසෙනවා.

**ඇන්ටනි** : කාගේ ද ඒ හඬ?

**මරිය තුමිය** : මං කියන්නම්, ඒ හඬ කාගෙ ද කියලා. එක දවසක් මං නිවසේ සිටියා. දෙවියන් වහන්සේගේ ගාබ්‍රියෙල් නම් දේව දූතයා මා වෙතට පැමිණියා.

**දේව දූතයා** : විපුල ප්‍රසාදලත් උත්තමිය, ඔබට මංගල වේ; ස්වාමින් වහන්සේ ඔබ සමග ය.

**මරිය තුමිය** : මා ගොඩක් කැළඹුණා. එතකොට;

**දේව දූතයා** : මරියාවෙනි බිය නොවන්න, ඔබ දෙවියන් වහන්සේගේ වරප්‍රසාදය ලද්දෙහි ය. මේ බලන්න, ඔබ පිළිසිඳගෙන පුතෙකු ලබන්නෙහි ය; ඔවුන් වහන්සේට "ජේසුස්" යන නාමය තබන්න.

මරිය තුමිය : මට පුරුෂයකු නැති බැවින් මෙවැන්නක් කෙසේ සිදුවිය හැකි ද?

දේව දූතයා : ශුද්ධාත්මයාණන් වහන්සේ ඔබ කෙරෙහි පහළ වන සේක; පරමෝත්තමයාණන්ගේ ආනුභාවය ද ඔබ වසා ගන්නේ ය. එහෙයින් උපදින පරිශුද්ධ දරුවා දෙවියන් වහන්සේගේ පුත්‍රයාණෝ ය'යි කියනු ලබන සේක. බලන්න, ඔබේ ඥාතිවරිය වන එලිසබෙත් ඇගේ මහලු වයසේ දී පුතකු පිළිසිඳ ගත්තා ය. වඳ යයි කී ඇයට දැන් සවැනි මාසය ය. මක්නිසාද, දෙවියන් වහන්සේට නොකළ හැකි කිසිවක් නැත.

මරිය තුමිය : "බලන්න, මම ස්වාමීන් වහන්සේගේ දාසිය වෙමි; ඔබ පැවසූ ලෙස ම ඉටු වේවා"යි කියා මම දේව කැමැත්තට හිස නැමුවා.

පීටර් : ඉතින්, ජුසේ තුමා ඔබතුමිය පිළිගන්න කැමති වුණා ද?

මරිය තුමිය : නැහැ, නමුත් දෙවියන් වහන්සේගේ දූතයෙක් සිහිනයකින් එතුමාටත් දර්ශනය වුණා. මා ගැබ්ගෙන ඇත්තේ ශුද්ධාත්මයාණන් වහන්සේගේ අනුහසින් බවත්, මා බිහිකරන පුතුට "ජේසුස්" යන නම තබන ලෙසත්, එමගින් යෙසායා දිවැසිවරයා පැවසූ වදන් ඉටු වන බවත් පැවසුවා. ඔහුත් දේව කැමැත්තට අවනත වුණා.

ඇන්ටනි : ඉතින්, ජේසු ඉපදුණේ කොහේ ද?

මරිය තුමිය : ඒක දිග කථාවක්. ඒ කාලේ රෝම අධිරාජ්‍යයේ සියලු වැසියන්ගේ සංගණනයක් ගැනීමට අගොස්තුස් අධිරාජයා වෙතින් නියෝගයක් නිකුත් වුණා.

අණබෙරකරු : අසව්, අසව්. අධිරාජයේ සියලු වැසියන්ගේ සංගණනයක් ගනු පිණිස තම තමන්ගේ නුවරට ගොස් ලියාපදිංචි වෙනු!

මරිය තුමිය : ජුසේ තුමා දාවිත්ගේ වංශයට හා පෙළපතට අයිති නිසා ජුසේ තුමාත් මමත් ගලීලයේ නාසරෙත් නුවරින් නික්මිලා ජුදයේ බෙත්ලෙහෙම නම් දාවිත්ගේ නුවරට ගියා. එතකොට ජේසු බිළිඳාණන් උපත ලබන්න දිනත් සම්පූර්ණයි. කළුවරත් වැටුණා. ජුසේ තුමා අපට රෑට නවතින්න තානායමක් හෙව්වා.

**ජුසේ තුමා** : අද අපට මෙහි නවාතැන් ගන්න පුලුවන් ද?

**තානායම්කරු** : අද අපේ තානායමේ සෙනඟ. මං හිතනනේ නෑ මේ හරියේ කිසි තානායමක ඉඩ ඇති කියලා. ඒත් ඔබේ බිරිඳ ඉන්නේ අමාරුවෙන්. කැමති නම් අපේ ගව මඩුවෙ නවතින්න.

**ජුසේ තුමා** : ඔබට ස්තුතියි.

**පීටර්** : ඉතින් ඔබ දරුවා බිහි කළේ ගවමඩුවක ද?

**මරිය තුමිය** : ඔව්, මං දේව කැමැත්තට හිස නමමින් කුළුඳුල් පුත්‍රයා බිහි කොට රෙදිවලින් ඔතා, ගව ඔරුවක තැබුවා. එම පළාතෙහි එඬේරු රෑ යාමයෙහි සිය බැටළු රැළ රකිමින් පිට්ටනියේ සිටින විට දෙවියන් වහන්සේගේ දූතයෙක් ඔවුන්ට දර්ශනය වුණා.

**දේව දූතයා** : "බිය නොවන්න; මෙන්න, සකල ජනයා හට ඉතා ආනන්දජනක මංගල පුවතක් මම ඔබ වෙත ගෙනෙමි." ක්‍රිස්තුස් නම් ගැලැවුම්කාරයෙක් ඔබහට, දාවිත්ගේ නුවර අද උපන්නේ ය. රෙදිවලින් ඔතා ගව ඔරුවක බාවා සිටින බිළිදෙක් ඔබට හමු වන්නේ ය. එය ඔබට ලැබෙන සලකුණ යි.

**එඬේරෙක්** : අන්න, දේව දූතයෝ ප්‍රශංසා ගීත ගයනවා. අපි දැන් ම යමු, බෙත්ලෙහෙම් නුවරට එතුමාණන් නමදින්න.

**ඇන්ටනි** : ඉතින්, එඬේරු විතර ද ආවේ ජේසු බලන්න?

**මරිය තුමිය** : නෑ ජේසු ඉපදුන බව දන්වන්නට අහසේ වල්ගා තරුවක් පෑව්වා. පෙරදිගින් ශාස්ත්‍රවන්තයින් තිදෙනෙක් පැමිණියා. ඔවුන් රජ මාලිගාවටයි ගියේ.

**ශාස්ත්‍රවන්තයෝ** : ජුදෙව්වරුන්ට රජ ව උපන් උතුමාණෝ කොතැන්හි ද? අපි එතුමාණන්ගේ තාරකාව පෙරදිග දී දැක, එතුමාණන්ට නමස්කාර කරනු පිණිස ආවෙමු.

**හෙරොද් රජ :** එහෙම දෙයක් මම දන්නේ නෑ. හොයලා බලන්නම්. (රාජ සේවකයන් අමතා) සියලු නායක පූජකයන් ද විනයධරයන් ද රැස් කරව.

**නායක පූජකයන්:** රජතුමනි, අප කැඳවූයේ කිම ද?

**හෙරොද් රජ :** ක්‍රිස්තුන් වහන්සේ උපත ලැබුවේ කොහි ද?

**නායක පූජකයන්:** රජතුමනි, ජුදයේ බෙත්ලෙහෙමෙහි

**හෙරොද් රජ :** ඔබ දන්නේ කෙසේ ද?

**නායක පූජකයෙක්:** එය දිව්‍යසිවර ග්‍රන්ථයේ සඳහන් වෙනවා.

**හෙරොද් රජ :** (රහසින් ශාස්ත්‍රවන්තයින් තිදෙනා කැඳවා) ඔබ ගොස් ඒ ළදරුවා ගැන විමසා මටත් දැනුම් දෙන්න. මම ද ඔහුට නමස්කාර කළ යුතු යි.

**පළමු ශාස්ත්‍රවන්තයා :** අන්න....... අප පෙරදිග දී දුටු තාරකාව ගවමඩුව ළඟ නතර වුණා.

**දෙවන ශාස්ත්‍රවන්තයා :** අපි යමු. අපි ගෙනා රන් ද තුවරලා ද ගන්ධරස ද පූජා කර, පසඟ පිහිටුවා වඳිමු.

**ඇන්ටනී :** ඉතින්, අර ශාස්ත්‍රවන්තයෝ, රජවරු හෙරොද් රජුට පණිවිඩය කිව්ව ද?

**මරිය තුමිය :** නැහැ, දෙවියන් වහන්සේ ඔවුන්ට සිහිනයකින් හෙරොද් වෙත නොයන ලෙස දැන්වූවා. ඔවුන් අන් මඟකින් ඔවුන්ගේ රටවලට ගියා.

**පීටර් හා ඇන්තනි:** අපිත් කැමතියි ඔබතුමිය වගේ හැමදාම දේව කැමැත්ත ඉටු කරන්න.

**මරිය තුමිය :** ඔබ සියලුදෙනාට ම දේව කැමැත්ත ඉටු කරන්න ලැබෙන්න කියලා මං දෙවියන් වහන්සේ ඉදිරියේ යාච්ඤා කරන්නම්.

## ජේසුස් වහන්සේට නම් තැබීම

උන් වහන්සේගේ චර්මඡේදන පිළිවෙත සඳහා අට දවස පිරුණු කල, උන් වහන්සේ කුසෙහි පිළිසිඳගැනීමට පෙර දේව දූතයා විසින් දෙන ලද, "ජේසුස්" යන නාමය උන් වහන්සේට තබන ලද්දේ ය."

(ලූක් 2:21)

## ජේසුස් වහන්සේ කැප කිරීම

මෝසෙස්ගේ ව්‍යවස්ථාව අනුව ඔවුන්ගේ පවිත්‍ර වීමේ කාලය පැමිණියෙන්, ඔව්හු උන් වහන්සේ සමිඳාණන් වහන්සේට කැප කරනු වස්, ජෙරුසලමට ගෙනාහ. එසේ කෙළේ, "හැම කුළුඳුල් පිරිමි දරුවෙක් ම සමිඳාණන් වහන්සේට කැප ය"යි සමිඳාණන් වහන්සේගේ ව්‍යවස්ථාවලියෙහි ලියා ඇති ලෙස, දරුවා සමිඳාණන් වහන්සේට ඔප්පු කරන පිණිසත්, එහි ම කියා ඇති පරිදි කොබෙයියන් දෙදෙනෙකු හෝ පරෙවි පැටවුන් දෙදෙනෙකු හෝ පූජා කරන පිණිසත් ය.

(ලූක් 2:22-24)

ජුදා ජාතිකයන්ගේ ආගමික හා ජාතික චාරිත්‍ර කිහිපයක් ඉහත බයිබල් පාඨ ගෙන හැර දක්වයි. ඒවා නම්;

* අටවන දින චර්මඡේදනය කිරීම
* නම් තැබීම
* පිරිසිදු වීමේ පිළිවෙත් සිදු කිරීම
* කුළුඳුල් දරුවන් දෙවියන් වහන්සේට කැප කිරීම.

මරිය තුමිය හා ජුසේ තුමා ද එම ජුදා ආගමික හා ජාතික චාරිත්‍ර සිදු කළෝ ය.

අද සමාජයේ බොහෝ දෙනා ජාතික හා ආගමික චාරිත්‍ර නොසලකා හැරීමට පුරුදු වී සිටිති. එහෙත් ශුද්ධ වූ පවුලෙන් අපට ලැබෙන ආදර්ශය මෙයට හාත්පසින් ම වෙනස් ය. බිළිඳු ජේසුස් වහන්සේ ව අට දවස පිරුණු කල චර්මඡේදනය කෙරිණි. දේව දූතයන් විසින් දෙන ලද "ජේසුස්" යන නාමය තැබිණි. එසේ ම මෝසෙස් තුමාගේ ව්‍යවස්ථාව අනුව පිරිසිදු වීමේ කාලය පැමිණියෙන් බිළිඳු ජේසුස් වහන්සේ ව ජෙරුසලම් නුවර දේව මාලිගයෙහි ඔප්පු කරනු ලැබිණි.

මේ කරුණුවලින් පැහැදිලි වන්නේ ජාතික හා ආගමික චාරිත්‍රවලට අප ද ගරු කළ යුතු බව ය.

**ලූක් 2:1-24 හා මතෙව් 2:1-12 සුවිශේෂ පාඨ හා නත්තල් නාට්‍ය කියවා ප්‍රහේලිකාව පුරවමු.**

හරහට

1. මරිය තුමියගේ ඥාතිවරියකි.
5. කිතුනු නිවෙස්වල නත්තල් කාලයට සාදනු ලබන්නේ
6. ගාබ්‍රියෙල් දේව දූතයා මංගලම් කීවේ
7. අධිරාජයාගේ නියෝගය ජනතාවට දැනුම් දීමට යොදා ගත්තේ
9. දෙසැම්බර් 25 වන දින අප සමරන්නේ
10. ජේසුස් වහන්සේගේ උපත ගැන ප්‍රකාශ කළ දිවැසිවරයෙකි.



පහළට

2. ජේසුස් වහන්සේ ඉපදුණු නගරය
3. ජුසේ තුමා අයිති වංශය හා පෙළපත
4. ප්‍රශංසා ගීත ගායනා කරන ලද්දේ
5. ශාස්ත්‍රවන්තයෝ ජේසු බිළිඳාණන්ට ලබා දුන් තුටු පඬුරකි
7. සියලු වැසියන්ගේ සංගණනයක් ගැනීමට නියෝග දුන් අධිරාජ්‍යයා
8. ශාස්ත්‍රවන්තයෝ හෙරෝද් රජු හමුවීමට ගිය ස්ථානය
9. පුංචි ළමුන්ට තෑගි බෝග රැගෙන නත්තල් දා පැමිණෙන්නේ

**ක්‍රියාකාරකම**

(1). ශුද්ධ වූ පවුල ජාතික හා ආගමික චාරිත්‍රවලට ගරු කළ අවස්ථා **දෙකක්** ලියන්න.

(2). ඔබේ පන්ති තුළ සුහදතාව හා සහජීවනය ඇති කිරීමට ඔබ ගන්නා පියවර **තුනක්** නම් කරන්න.

(3). නත්තල් දින ඔබේ පවුලේ අය සමඟ කළ හැකි යහපත් ක්‍රියා **තුනක්** ලියන්න.

(4). නිර්මාණශීලි නත්තල් (සුබ පැතුම්) පතක් සාදන්න.



***ජීවිතයට බිඳක්***

- *ජාතික හා ආගමික චාරිත්‍රවලට ගරු කරමු.*
- *හැකි සෑම විට ම අසරණයන්ට පිහිට වෙමු.*
- *ආගමික ස්ථානවල දී ගෞරවයෙන් හැසිරෙමු.*
- *නත්තල් කාලයේ දී නිවසේ ගවලෙනක් සාදමු.*

# 8 ජේසුස් වහන්සේගේ ළමා කාලය

## ජේසු කුමරුන් දේව මාලිගයට යාම

ජුදා සිරිතට අනුව, ජේසුස් වහන්සේගේ දෙමව්පියෝ අවුරුදු පතා පාස්කු උළෙල සඳහා ජෙරුසලමට ගියහ. එලෙස ම ජේසු කුමරුට අවුරුදු දොළහ සම්පූර්ණ වී තිබුණු විට ද ඔවුන් වහන්සේ කැටුව මරිය තුමිය හා ජුසේ තුමා ද නෑ හිත මිතුරන් ද ජෙරුසලම බලා ගියෝ ය. පාස්කු මංගල්‍යයෙන් පසු මරිය තුමිය හා ජුසේ තුමා ආපසු පැමිණියත් ජේසු කුමරාණෝ ජෙරුසලමේ නැවතුණහ.

ඒ බව නොදත් දෙමව්පියෝ, ජේසු කුමරාණන් තම නෑ මිතුරන් අතර සෙවූහ. එතුමා ඔවුන් අතර නොසිටි බැවින් ජෙරුසලමට පෙරළා ගියහ. තෙදිනකට පසු මරිය තුමිය හා ජුසේ තුමා ජෙරුසලමට පැමිණියෝ ය. දේව මාලිගාවෙහි පඬිවරුන් මැද වැඩ හිඳිමින් ඔවුන් අසන ප්‍රශ්නවලට පිළිතුරු දෙමින් සිටින ජේසු කුමරා දුටුහ.



8.1 රූපය - පඬිවරුන් මැද ජේසු කුමරුන් දේව මාලිගාවේ

**මරිය තුමී :** පුතා, කුමක් නිසා අපට මෙසේ කෙළෙහි ද? බලන්න, ඔබේ පියා ද මම ද දුකින් තැවි තැවී ඔබ සෙවීමු.

**ජේසු කුමරාණෝ :** ඔබ මා සෙව්වේ මන් ද? පියාණන්ගේ මැඳුරෙහි මා සිටිය යුතු බව ඔබ නොදන්නහු ද?

ජේසු කුමරු පැවසූ දේ ඔවුන්ට අවබෝධ නොවී ය. මරිය තුමිය මේ සියලු දේ තම සිතෙහි නිදන් කර ගත්තා ය.

ජේසුස් වහන්සේ මෙලොවට පැමිණියේ, ගැලවීමේ කාර්ය ක්‍රියාත්මක කිරීමට ය. ළමා කාලයේ දී පවා ජේසුස් වහන්සේ තම පියාණන් වහන්සේගේ කැමැත්ත ඉටු කිරීමට ඉදිරිපත් වූ සේක. කිතුනු දරුවන් වන අප ද දෙවියන් වහන්සේ ලෝකයට හඳුන්වා දීමට කැඳැවීමක් ලබා ඇත. එම කැඳවීමට අනුව දෙවියන් වහන්සේ ව ලෝකයට හඳුන්වා දීමට ළමා කාලයේ සිට ම පුංචි අප ඉදිරිපත් විය යුතු ය. මේ සඳහා ළමා ජේසුස් වහන්සේගේ ජීවිතය ආදර්ශයට ගත යුතු ය.

දේව මාලිගයේ නැවතුණු ජේසුස් වහන්සේ සොයා ගිය මරිය තුමියගේ හා ජුසේ තුමාගේ ආදර්ශයෙන් අපට පෙන්නුම් කරන්නේ, දෙමව්පියන් තම දරුවන් ගැන ඉතා සෝදිසියෙන් සිටිය යුතු බව ය.

## ජේසුස් වහන්සේගේ වර්ධනය

ළමා වියේ ජේසුස් වහන්සේ වැඩුණු ආකාර ශුද්ධ වූ ලූක් තුමා මෙසේ ගෙන හැර දක්වයි.

> උන් වහන්සේ ඔවුන් කැටුව ගොස් නාසරෙත් නුවරට පැමිණ ඔවුන්ට කීකරු වී විසූ සේක. ........ ජේසුස් වහන්සේ ප්‍රඥා මහිමයෙන් හා කාය ශක්තියෙන් ද දෙවියන් වහන්සේගෙන් හා මිනිසුන්ගෙන් ප්‍රසාදය ලබමින් ද වැඩුණු සේක.
>
> (ලූක් 2:51-52)



කුඩා වියේ සිට ම දේව කැමැත්තට අවනත වූ ජේසුස් වහන්සේ ද යහපත් ගුණාංගවලින් වර්ධනය වූ බව ලූක් තුමා පවසයි. ළමා වියේ දී දේව මාලිගාවේ පඬිවරයන් මැද වැඩහිඳ ඔවුන් පවසන සියල්ල අසමින් වාද විවාදයෙහි යෙදුණු ආකාරයෙන් අපට පෙනී යන්නේ, ජේසුස් වහන්සේ ප්‍රඥා මහිමයෙන් වර්ධනය වූ ආකාරය යි. දේව පුත්‍රයා වුව ද ජේසුස් වහන්සේ තම දෙමාපියන්ට කීකරු ව තම නිවසේ කටයුතුවලට ද උදව් කළ සේක. මෙලෙස ඔවුන් වහන්සේ කාය ශක්තියෙන් වැඩිණි.

ජේසුස් වහන්සේ තම දෙමාපියන් සමග ආගමික කටයුතුවල නිරත වෙමින් යාච්ඤා කරමින් කල්ගත කළහ. උදහරණ:- ජේසුස් වහන්සේ කැප කිරීම සඳහා ඔවුන් වහන්සේගේ දෙමව්පියෝ ජෙරුසලම් දේව මාලිගයට ගෙන යාම, දොළොස් වියේ දී ජෙරුසලමේ පාස්කු මංගල්‍යයට යාම. දෙමාපියන්ට මෙන් ම අන් අයට සහාය වෙමින් සමාජයේ නීති රීතිවලට ගරු කරමින් ඔවුන් වහන්සේ හැදී වැඩුණු සේක. මෙයින් අපට පෙනී යන්නේ ජේසුස් වහන්සේ දෙවියන් වහන්සේගේ හා මනුෂ්‍යයාගේ ප්‍රසාද ලබමින් වැඩුණු ආකාරය යි. මෙලෙස බලන කල ලූක් තුමා එක් වැකියකින් වුව ද ජේසුස් වහන්සේ තුළ ඇති වූ පෞරුෂ සංවර්ධනය කැටි කර දී ඇත.

අපගේ පෞරුෂ වර්ධනය සඳහා ජේසුස් වහන්සේ මෙන් අපිත් මානසික ව, ශාරීරික ව, ආධ්‍යාත්මික ව හා සමාජයීය ව වර්ධනය විය යුත්තෙමු. පොත්, පුවත්පත් හා සඟරා කියවමින් හා හොඳින් ඉගෙන ගනිමින් මානසික වර්ධනය ඇති කර ගෙන බුද්ධිමත් විය යුත්තෙමු.

නිසි පෝෂණයෙන් යුතු ආහාර පාන ලබා ගනිමින් ද ක්‍රීඩා කටයුතු හා ව්‍යායාමවල නිරත වෙමින් ද අපට ශාරීරික වර්ධනය ඇති කර ගත හැකි ය.

යාච්ඤාවේ දිවි පෙවෙතක් ගත කරමින් ආගමික භක්ති අභ්‍යාසවල නිරත වෙමින් අපට ආධ්‍යාත්මික ව වර්ධනය විය හැකි ය.

ඔබ ජීවත් වන සමාජය (නිවස, පාසල, දේවස්ථානය, ගම, නගරය) තුළ කැප වී සේවය කිරීම තුළින් සමාජයීය වශයෙන් වර්ධනය විය හැකි ය. විශේෂයෙන් ළමා ජේසුස් වහන්සේගේ ජීවිතය ආදර්ශයට ගනිමින් තම පවුලේ අය සමග සහයෝගයෙන් වැඩ කටයුතු කිරීම, පාසලේ හා ගමේ ශ්‍රමදාන කටයුතුවලට සහභාගිවීම දේවස්ථානයේ වැඩ කටයුතුවලට සහාය දැක්වීම වැනි දෑ අපට කළ හැකි ය. සමාජයට උපරිම සේවයක් කරමින්, අපිත් ජේසුස් වහන්සේ මෙන් මානසික, ශාරීරික ආධ්‍යාත්මික හා සමාජයීය වශයෙන් වර්ධනය විය යුත්තෙමු.

**ක්‍රියාකාරකම**

(1) ඔබ, i. මානසික ව iii. ආධ්‍යාත්මික ව
ii. ශාරීරික ව iv. සමාජයීය ව
වර්ධනය වූ ආකාර දෙක බැගින් ලියන්න.

(2) ඔබ තුළ වර්ධනය කර ගත යුතු යහපත් ගුණාංග **තුනක්** ලියන්න.

(3) දොළොස් වියැති ජේසු කුමරු ජෙරුසලමට ගියේ කුමන මංගල්‍යය සැමරීමට ද?

(4) ජේසු කුමරු දෙළොස් වියේ දී ජෙරුසලමේ දේව මාලිගයෙහි නතර වූයේ ඇයි?

(5) "ඔබ මා සෙව්වේ මන් ද? මා පියාණන්ගේ මැඳුරෙහි සිටිය යුතු බව ඔබ නොදන්නහු ද"යි යන ජේසු කුමරුගේ ප්‍රකාශයෙන් ඔබට ලැබෙන පණිවිඩය කුමක් ද?

(6) ළමා ජේසුස් වහන්සේගේ ජීවිතයෙන් ඔබට ගත හැකි ආදර්ශ **තුනක්** ලියන්න.



***ජීවිතයට බිඳක්***

- ★ *සැම විට ම ළමා ජේසුස් වහන්සේ ආදර්ශයට ගන්න.*
- ★ *වැඩිහිටියන් ඔබේ ම යහපත සඳහා දෙන උපදෙස් පිළිගන්න; ඒ අනුව හැසිරීමට පුරුදු වන්න.*
- ★ *ජේසුස් වහන්සේගේ ළමා කාලය ගැන ලියවී ඇති බයිබල් චිත්‍ර කථා කියවීමට උනන්දු වන්න.*

# 9 දේව ප්‍රසාද නිධාන

දේව ප්‍රසාද නිධානයක් යනු උත්ථාන ව වැඩ සිටින දෙවි සමිඳුන් හමුවීම සඳහා ඇතුළතින් අප වෙත දානය කරනු ලබන දේව වරප්‍රසාද පිටස්තර වශයෙන් සලකුණු කෙරෙන අයුරින් ක්‍රිස්තුන් වහන්සේ විසින් ස්ථාපිත කර ඇති සංඥා පිළිවෙත් වේ.

මේ අනුව, දේව ප්‍රසාද නිධානයක ප්‍රධාන ලක්ෂණ හතරක් ඇතුළත් වේ. එම ලක්ෂණ හතර දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ නමැති දේව ප්‍රසාද නිධානය ඇසුරෙන් මෙසේ පැහැදිලි කළ හැකි ය.

1. ඇතුළතින් ලබා දෙන දේව වරප්‍රසාද ලබා දීම - ජේසුස් වහන්සේ
2. බාහිර ලෙස එය සලකුණු කිරීම - පූප හා මිදි යුෂ ඇසුරෙන්
3. ක්‍රිස්තුන් වහන්සේ විසින් ස්ථාපිත කර තිබීම - මහ බ්‍රහස්පතින්දා අන්තිම රාත්‍රි භෝජනයේ දී
4. සංඥා පිළිවෙත් (වත්පිළිවෙත්) අඩංගු වීම - දිව්‍ය පූජාව


9.1 රූපය - කරඬුවක තැන්පත් කර ඇති දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ

දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තුළින් අප ජේසුස් වහන්සේ ව ලබා ගනිමු. ඔවුන් වහන්සේගේ ශ්‍රී ශරීරය හා ශ්‍රී රුධිරය ලබා ගැනීම තුළින් අපගේ දේව ජීවිතය පෝෂණය වන බව විශ්වාස කරමු. මෙය ඇතුළතින් ලැබෙන දේව වරප්‍රසාදය යි. එමෙන් ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ මහ බ්‍රහස්පතින්ද අන්තිම රාත්‍රී භෝජනයේ දී ස්ථාපිත කරන ලද්දේ, ක්‍රිස්තුන් වහන්සේ විසින් ය. ඔවුන් වහන්සේ භාවිත කළ පූප හා

මිදි යුෂ දිව්‍ය සත්ප්‍රසාද පිළිවෙතෙහි බාහිර සලකුණු වන අතර, එය පිළිවෙතක් ලෙස සැමරීම දිව්‍ය පූජාව තුළින් සිදු වේ.

දේව ප්‍රසාද නිධාන හතක් තිබේ. පහත පින්තූරයෙන් එම දේව ප්‍රසාද නිධාන හත පෙන්නුම් කරයි.



9.2 රූපය - උත්ථාන වූ දෙවි සමිඳුන් හමුවන දේව ප්‍රසාද නිධාන හත

ස්වභාවික හා ආධ්‍යාත්මික ජීවිතයේ අවධි අතර සමානකම් තිබේ.

- ★ උපත - ප්‍රසාද ස්නාපනය
- ★ පෝෂණය වීම - දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ
- ★ වැඩිවියට පත්වීම - අභිවෘද්ධි ආලේපය
- ★ ජීවිත තත්ත්වයන් තෝරා ගැනීම - ආශිර්වාදකාර බන්ධනය/ පූජකවරය
- ★ රෝග වැළඳීම හෝ දුර්වල වීම - සමගි සන්ධානය හා රෝගීන් ආලේපය

එම නිසා ජීවිත අවස්ථාවන් පදනම් කර ගෙන ආධ්‍යාත්මික ජීවිතය ද ඊට සමාන්තර ව වැඩෙන පිණිස දේව ප්‍රසාද නිධාන ද ලබා ගත යුතු ව ඇත. දේව ප්‍රසාද නිධාන තුළින් ක්‍රිස්තුන් වහන්සේ දේව වරප්‍රසාද ලබා දෙන සේක. එසේ ම නිදහස් කැමැත්තෙන් හා අවබෝධයෙන් ඒවා ලබා ගත යුතු වේ. තව ද බෞතීස්මය ලබා කතෝලිකයකු වූ සැම කෙනෙක් ම අනෙකුත් දේව ප්‍රසාද නිධාන නියමිත වයසේ දී හෝ අදාළ අවස්ථාවේ දී ලබා ගත යුතු ය. දේව ප්‍රසාද නිධාන පහත සඳහන් අයුරින් වර්ග කළ හැකි ය.




එක් වරක් පමණක් ලබා ගත හැකි ප්‍රසාද නිධාන තුනක් තිබේ. ඒවා නම්;

1. ප්‍රසාද ස්නාපනය
2. අභිවෘද්ධි ආලේපය
3. පූජකවරය

① 



9.3 රූපය - ප්‍රසාද ස්නාපනය

② ③



9.4 රූපය - අභිවෘද්ධි ආලේපය



9.5 රූපය - පූජකවරය

මෙම දේව ප්‍රසාද නිධාන එක් වරක් පමණක් ලබා ගන්නේ ඒවායින් ආත්මය තුළ නොමැකෙන ලාංඡනයක් සනිටුහන් වන නිසා ය. එක් එක් දේව ප්‍රසාද නිධානයෙන් ලැබෙන වරප්‍රසාද පහත වගුවේ දැක්වේ.

| දේව ප්‍රසාද නිධානය | ලැබෙන වරප්‍රසාද |
|---|---|
| ප්‍රසාද ස්නාපනය | දේව දරුකම, පව් සමාව හා ශුද්ධාත්මයාණන් තුළ නව ජීවිතය |
| පාපෝච්චාරණය | පව් සමාව |
| දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ | ජේසුස් වහන්සේ ව ම අපට ලැබේ |

| | |
|---|---|
| අභිවෘද්ධි ආලේපය | පරිණත කිතුනුවන් ලෙස සාක්ෂි දැරීමට අවශ්‍ය වරප්‍රසාද |
| ආශිර්වාදකාර බන්ධනය | විවාහ දිවියේ වගකීම් ඉටු කිරීමට අවශ්‍ය දේව වරප්‍රසාද<br>විවාහ ගිවිසුම තුළ දෙදෙනාගේ යහපත හා දරුවන් ජනනය හා ඔවුන් පුහුණු කිරීම |
| පූජකවරය | ක්‍රිස්තුන් වහන්සේ විසින් අපෝස්තුලුවරුන්ට පැවරූ දූත සේවාව අඛණ්ඩ ව පවත්වා ගෙන යාමට අවශ්‍ය දේව වරප්‍රසාද |
| රෝගීන්ගේ ආලේපය | ආත්මික සුවය හා සමහර අවස්ථාවල දී ශාරීරික සුවය |

**ක්‍රියාකාරකම**

පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. දේව ප්‍රසාද නිධාන යනු කුමක් ද?
2. මේ දක්වා ඔබ ලබා ඇති දේව ප්‍රසාද නිධාන මොනවා ද?
3. ආරම්භක දේව ප්‍රසාද නිධාන ලබා ගත යුතු කාල වකවානු වගුවක දක්වන්න.
4. i ප්‍රථම වරට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ නොලැබූ මිතුරකුට හෝ
   ii ඉරුදින දිව්‍ය පූජාව අතපසු කරන මිතුරකුට හෝ
   iii සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය නොලබන මිතුරකුට ඔබ දෙන උපදෙස් **දෙකක්** ලියන්න.



***ජීවිතයට බිඳක්***

*නියමිත වයසේ දී නියමිත දේව ප්‍රසාද නිධාන ලබා ගන්න.*

# 10 ආරම්භක දේව ප්‍රසාද නිධාන




## 1. ප්‍රසාද ස්නාපනය



10.1 රූපය - ජෝර්දාන් නදියේ දී ජේසුස් වහන්සේ බෞතීස්ම ස්නාපනය ලැබීම

ප්‍රසාද ස්නාපනය එක වරක් පමණක් ලැබිය හැකි දේව ප්‍රසාද නිධානයකි. දේව දරුකම නමැති නොමැකෙන ලාංඡනය පුද්ගලයාගේ ආත්මය තුළ එමඟින් සනිටුහන් වේ.




## ප්‍රසාද ස්නාපනයේ දී භාවිත වන සංකේත



10.2 රූපය - ජලය වත් කිරීම



10.3 රූපය - සුදු වස්ත්‍රය පැළඳවීම

### 1. ජලය

පාපයට මිය යාම හා වරප්‍රසාදීය ජීවිතයකට උත්ථාන වීම සංකේතවත් කරයි.

### 2. සුදු වස්ත්‍රය

ක්‍රිස්තුන් වහන්සේ පැළඳ ගැනීම (ගලාති 3:7) හා ආත්මික ජීවිතය කිලිටි වීමට ඉඩ නොදී තබා ගැනීමේ අවශ්‍යතාව සංකේතවත් කරයි.



10.4 රූපය - ඉටි පහන් දැල්වීම



10.5 රූපය - ශුද්ධ වූ තෛලයෙන් ආලේප කිරීම

3. පාස්කු ඉටිපහන

උත්ථාන වූ ක්‍රිස්තුන් වහන්සේ විසින් නවක කිතුනුවා ආලෝක කරනු ලැබූ බව හා එම ආලෝකය නිවීමට ඉඩ නොදිය යුතු බව සංකේතවත් කරයි.

4. ශුද්ධ වූ තෛලය

ශුද්ධාත්ම වරම් ලැබීම සංකේතවත් කරයි.

## 2. අභිවෘද්ධි ආලේපය

(විරිඳුවක් ආකාරයෙන් පහත ගීය ගයන්න.)

පෙන්තකොස්ත දිනයේ දී ගෝලයෝ සැම එකතු වෙලා
දෙවිඳුන් යදිමින් නිවසක (රැස් වී සිටියලු එක් වී) //

සැඩ සුළඟක හඬකින් ගේ හදිසියේම පිරිලා ගියා
ගිනි දළු වැනි දිව් බෙදිලා (ගෝලයෝ මත වැඩ සිටියා) //

සුදතුමගෙන් පිරුණු ඒ ගෝලයෝ සැම එඩිතර වී
නොබිය ව සුපුවත දසතම (පතුරා සැමහට දෙසුවා) //

මිහිපිට සැම දෙසකින් එහි පැමිණි ජුදෙව්වන් සැම දෙන
ජෙරුසලමේ රැස් වී ඒ (දෙසුමන් සැම අහ ගත්තා) //

ගලීලයෝ තම බසින් ම අමතනු ඔවුනට ඇසුණි
මවිත වූ ඔවුනට ගෝලයෝ (පවසන දෙව් විකුම් ඇසුණි) //

සුදතුම් වරමින් පැවසූ සුබ වදනින් පෝෂණ වී
තුන් දහසක් පමණ දෙනා (දෙව් දහමට නතු වූවෝ) //

එදා පෙන්තකොස්ත දින ගෝලයන් වෙතට ශුද්ධාත්මයාණන් වහන්සේ වැඩම කළාක් මෙන්, අද අප වෙතට ද අභිවෘද්ධි ආලේපය නමැති දේව ප්‍රසාද නිධානය තුළින් ශුද්ධාත්මයාණන් වහන්සේ වැඩම කරන සේක. සැම ක්‍රියාවකට ම පෙර ශුද්ධාත්මයාණන් වහන්සේට යාච්ඤා කිරීම තුළින් ශුද්ධාත්ම මඟ පෙන්වීම බලය හා ශක්තිය අපට නො අඩුව ලැබේ. එමෙන් ම ප්‍රසාද ස්නාපනයෙන් අප ලද නව ජීවිතය වර්ධනය වන්නේ, අභිවෘද්ධි ආලේපයෙනි. අභිවෘද්ධි ආලේපය තුළින් ශුද්ධාත්ම වරම් ලබා පරිණත කිතුනුවන් ලෙස සාක්ෂි දැරීමේ වගකීම අපට පැවරෙයි.

## 3. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ



10.6 රූපය - අන්තිම රාත්‍රී භෝජන අවස්ථාව

> උන් වහන්සේ රොටී ගෙන තුති පුද, ඒවා කඩා, ඔවුන්ට දී, "ඔබ උදෙසා දෙනු ලබන මාගේ ශරීරය මේ ය. මා සිහි කිරීම පිණිස මෙය, සිදු කරන්නැ"යි වදාළ සේක.
>
> (ලූක් 22:19)

අන්තිම රාත්‍රි භෝජනය අවස්ථාවේ දී ජේසුස් වහන්සේ භාවිත කළ මෙම වචන තුළින් ඔවුන් වහන්සේ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ස්ථාපිත කළ සේක. ආරම්භක දේව ප්‍රසාද නිධාන සම්පූර්ණත්වයට පත්වන්නේ, දිව්‍ය සත්ප්‍රසාදය ලැබීමෙනි.

## ලන්චියානෝ නුවර දිව්‍ය සත්ප්‍රසාදයීය ප්‍රාතිහාර්යය



10.7 රූපය - දිව්‍ය සත්ප්‍රසාදයීය වහන්සේ

**දිව්‍ය සත්ප්‍රසාද ප්‍රාතිහාර්යය සිදු වූ කාලය** - ක්‍රි.ව. 700 දී පමණ

| | | |
|---|---|---|
| **ප්‍රාතිහාර්යය සිදු වූ ස්ථානය** | - | ඉතාලියේ ලන්චියානෝ නුවර ශුද්ධ වූ ලෙගොන්ෂියන් මුනිතුමාට කැප කරන ලද දෙව්මැදුරේ දී |
| **සිදු වූ ප්‍රාතිහාර්යය** | - | පූපය හා මිදි යුෂ ජේසුස් වහන්සේගේ ශ්‍රී ශරීරයට හා ශ්‍රී රුධිරයට හැරෙන්නේ දැයි සැක කළ එක්තරා තාපස පියතුමෙක් පූපය හා මිදි යුෂ දිවරහස් කරන අවස්ථාවේ දී පූපය මස් කැබැල්ලක් බවටත් මිදි යුෂ රුධිරය බවටත් පරිවර්තනය විය. |

**1574 දී කළ විද්‍යාත්මක පර්යේෂණයේ දී ලැබුණු ප්‍රතිඵලː**

කැටි ගැසී තිබූ විවිධ හැඩවලින් යුත් අසමාන කොටස් කිරා බලන විට සෑම කොටසක ම බර එක සමාන විය. එමෙන් ම සියලු කොටස් එකට කිරන විට ලැබූ බර ද එක රුධිර කැටියක බරට සමාන විය.

**1978 දී කළ විද්‍යාත්මක පර්යේෂණවල ප්‍රතිඵලː**

★ මස් කැබැල්ල හා රුධිරය සැබැවින් ම මනුෂ්‍යයකුගේ බව හා මස් කැබැල්ල මිනිස් හදවතකින් ගත් එකක් බව

★ මස් කැබැල්ලෙත් රුධිරයෙත් අඩංගු රුධිර වර්ගය AB පොසිටිව් බව

- ශරීරයකින් අලුතින් ලබා ගත් රුධිරයක මෙන් ප්‍රෝටීන් හා ඛනිජ වර්ග රුධිරයෙන් ඉවත් නොවී දිගට ම පවතින බව
- මස් කැබැල්ලට හා රුධිරයට කිසි ම කල් තබා ගැනීමේ ද්‍රව්‍යයක් යොදා නොමැති බව
- ශතවර්ෂ 12කට අධික කාලයක් පරිසරයට නිරාවරණ ව පැවතුණ ද මෙම මස් කැබැල්ල හා රුධිරය නරක් වී නොමැති බව.

## 1970 වර්ෂයේ දී කළ පර්යේෂණයේ අනාවරණ

ටියුරින් නුවර ශ්‍රී සළුවෙත් ලන්චියානෝ නුවර මස් කැබැල්ලේ හා රුධිරයේත් ඇත්තේ AB පොසිටිව් වර්ගයට අයත් රුධිරය බව නාසා ආයතනය විසින් අනාවරණය කරන ලදී.

එබැවින් ජීවමාන ජේසු සමිඳුන් වැඩ සිටින දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ගෞරවයෙන්, භක්තියෙන් හා ආශාවෙන් නිතර නිතර ලබා ගත යුතු ය. ඒ තුළින් අප ජීවිත පෝෂණය වන අතර, වරප්‍රසාදයෙන් පූර්ණ ව වර්ධනය වේ. එබැවින් හැකි සෑම විට ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගත යුතු ය.

**ක්‍රියාකාරකම**

1. ප්‍රසාද ස්නාපනයෙන් ඔබ ලැබූ නව ජීවිතය වර්ධනය කර ගන්නේ කෙසේ ද?
2. පෙන්තකොස්ත දිනය සම්බන්ධ විරිඳුවෙන් ඔබ උගත් කරුණු **පහක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

*හැකි සෑම විට ම දිව්‍ය පූජාවට සහභාගි වී දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගන්න.*

# 11 සුවය දානය කිරීමේ දේව ප්‍රසාද නිධාන




මෙම දේව ප්‍රසාද නිධාන දෙක තුළින් ම ආධ්‍යාත්මික, ශාරීරික හා මානසික සුවය ලැබේ.

## සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය



11.1 රූපය - පව්කාර ස්ත්‍රිය ජේසුස් වහන්සේගෙන් සමාව ලබා ගැනීම

සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය, ප්‍රසාද ස්නාපනයෙන් පසු පාපයට වැටෙන අයගේ පව් කමාව සඳහා, ස්ථාපිත කර ඇති දේව ප්‍රසාද නිධානය යි. දේව සබැඳියාව පළුදු වන සෑම අවස්ථාවක ම සැබෑ පසුතැවිල්ලක් ඇති කර ගෙන, මෙම දේව ප්‍රසාද නිධානය ලබා, නැවත දේව සබඳතාව ඇති කර ගත යුතු ය.

## සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ස්ථාපිත කිරීම

පාස්කු ඉරුදින සැඳෑවේ උත්ථාන වූ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ අපෝස්තුලුවරුන්ට දර්ශනය වී, පහත ශුද්ධ ලියවිලි පාඨයේ සඳහන් වචන පවසමින්, පව් කමා කිරීමේ බලය ඔවුන්ට පවරා, සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ස්ථාපිත කළ සේක.

> ඔබ යමෙකුගේ පව් කමා කරන්නහු ද ඒවා ඔවුන්ට කමා කරනු ලැබේ; ඔබ යමෙකුගේ පව් කමා නොකරන්නහු ද ඒවා කමා නොකරනු ලැබේ
> (ජොහන් 20:22-23)



11.2 රූපය - පාපොච්චාරණය කරන අවස්ථාවක්

**සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානයෙන් ලැබෙන වරප්‍රසාද**

* ශුද්ධ වූ සභාව (අසල්වැසියන්) සමග සමගි වීම
* සදාතන දඬුවමින් මිදීම
* දෙවියන් වහන්සේ හා සමගි වීම, සිත් සාමය
* යම් ප්‍රමාණයකට කාලීන දඬුවමින් නිදහස් වීම
* ආධ්‍යාත්මික ශක්තිය

ප්‍රසාද ස්නාපනය ලැබුවකු මරණීය පාපයක් කළ සැම විට ම පාපොච්චාරණය කළ යුතු ය. සුළු පාපයකින් පසු පවා මෙම දේව ප්‍රසාද නිධානය ලබා ගැනීමෙන් පව් සමාවත්, පාපයන්ගෙන් වැළකීමට ශක්තියත් ලැබේ. "පව් සමාව" යළි යළිත් පව් කිරීමට දෙන බලපත්‍රයක් නොවේ. සමගි සන්ධානය තුළින් දෙවි සමිඳුන් හා මිත්‍ර වීමට අවස්ථාව ලැබෙන හෙයින් පාපය පිළිකුල් කොට, එයින් ඈත් වන්නට අප ඉටා ගත යුතු ය; දේව වරප්‍රසාද තුළ ජීවත් වීමට එය මගක් කර ගත යුතු ය.

**සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය නිසි ලෙස ලබා ගැනීමට අවශ්‍ය පියවර**

1. තමාගේ පව් සිහි කිරීම
2. ඒවාට දුක් මනස්ථාප වීම
3. මින් මතු පව් නොකරන්නට ඉටා ගැනීම
4. පව් සියල්ල ම පියතුමාට දන්වා සිටීම
5. පියතුමා නියම කරන දඬුවම් ඉටු කිරීම.

## රෝගීන්ගේ ආලේපය




11.3 රූපය - බෙත්සයිදා පොකුණ අසල දී සුව කිරීම

කායික වශයෙන් අප දුබල වන අවස්ථාවන්හි ආධ්‍යාත්මික වශයෙන් ශක්තිමත් කොට, ආත්මික මෙන් ම කායික සුවය දානය කිරීම පිණිස රෝගීන් ආලේප කිරීමේ දේව ප්‍රසාද නිධානය දානය කෙරේ.

## රෝගීන්ගේ ආලේපය නමැති දේව ප්‍රසාද නිධානයෙන් ලැබෙන වරප්‍රසාද

- ★ ක්‍රිස්තුන් වහන්සේගේ දුක්ප්‍රාප්තියේ කොටස්කරුවකු වීම
- ★ වේදනාව දරාගැනීමේ ශක්තිය
- ★ පව් කමාව
- ★ ශාරීරික සුවය
- ★ සදාතන ජීවිතය ලබා ගැනීමට සූදානම් කිරීම.

## රෝගීන්ගේ ආලේපය ලැබිය යුතු අවස්ථා

- ★ කෙනෙකු බරපතළ ලෙස ශාරීරික ව රෝගී වී සිටින විට
- ★ බරපතළ ශල්‍යකර්මයකට පෙර
- ★ වයස්ගත ව දුර්වල වී සිටින විට
- ★ මරණාසන්න මොහොතක
- ★ බරපතළ අනතුරකට පසු ව

## රෝගීන්ගේ ආලේපය ලබා දෙන ස්ථානය සූදානම් කිරීම



11.4 රූපය - රෝගීන්ගේ ආලේපය සඳහා සූදානම් කළ ස්ථානයක්

ඔබේ නිවසේ රෝගීන්ගේ ආලේපය දානය කරන අවස්ථාවක දී ඉහත සඳහන් ආකාරයට රෝගීන් ආලේප කිරීමේ ස්ථානය සූදානම් කරන්න.

අපගේ අසල්වැසියකු රෝගී ව සිටින අවස්ථාවක ඔහු කතෝලිකයකු නම් මීසමේ පියතුමා දැනුවත් කර, රෝගීන් ආලේප කිරීමේ දේව ප්‍රසාද නිධානය ලබා දීමට අවශ්‍ය කටයුතු කළ යුතු ය. තව ද නිතර නිතර දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීමට අවස්ථාව ලබා දිය යුතු ය. හැකි සෑම අවස්ථාවක ම පාපොච්චාරණය කිරීමට මග පාදා දිය යුතු ය. ඔවුන් වෙනුවෙන් යාච්ඤා කළ යුතු ය.

**ක්‍රියාකාරකම**

**හිස්තැන් පුරවන්න.**

1. "ඔබ යමෙකුගේ ...................... ඒවා ඔවුනට ...................."
2. .......................... ඇති කර ගැනීමෙන් ජීවිත වෙනසක් ඇති කර ගත හැකි ය.

**පිළිතුරු ලියන්න.**

1. රෝගීන්ගේ ආලේපය ලැබිය යුතු අවස්ථා **දෙකක්** ලියන්න.
2. ඔබගේ නිවෙස අසළ සිටින කතෝලික රෝගියකු වෙනුවෙන් පැවරෙන වගකීම් **තුනක්** ලියන්න.



***ජීවිතයට බිඳක්***

*වරදක් කළ හැම විට ම පාපොච්චාරණය කරන්න.*

# 12 සේවය සඳහා ස්ථාපිත දේව ප්‍රසාද නිධාන

මේ සඳහා ස්ථාපිත කළ දේව ප්‍රසාද නිධාන දෙකකි;

1. පූජකවරය : ක්‍රිස්තුන් වහන්සේ තමන් වහන්සේගේ අපෝස්තුලුවරුන්ට පැවරූ දූත සේවාව අඛණ්ඩ ව ලෝකය අවසානය දක්වා පවත්වා ගෙන යාමට ස්ථාපිත කළ දේව ප්‍රසාද නිධානය යි.

2. ආශිර්වාදකාර බන්ධනය : ආශිර්වාදකාර බන්ධනය පුරුෂයකු හා ස්ත්‍රියක අතර ජීවිතාන්තය දක්වා පවතින ගිවිසුමකි. දෙදෙනා අන්‍යොන්‍ය වශයෙන් සහාය වෙමින්, ප්‍රේමය තුළ පරිපූර්ණත්වයට පත්වේ. ඔවුන් දරුවන් බිහිකර, ගුණ ගරුක දරුවන් ලෙස ඔවුන් ව හදා වඩා ගනියි.

මේ දේව ප්‍රසාද නිධාන දෙකෙන් ම දේව ජනතාව ගොඩනැගෙයි. පූජකවරු මීසම තුළ ද දෙමාපියෝ නිවස තුළ ද යහපත් පරිසරයක් ගොඩනගමින් තමන් පූජකවරය හෝ ආශිර්වාදකාර බන්ධනය හෝ ලැබූ දින කැප වූ සේවාව කර ගෙන යති.

## පූජකවරය



12.1 රූපය - දිව්‍ය පූජාව පැවැත්වීම

ජේසුස් වහන්සේ මහා බ්‍රහස්පතින්දා දින පහත සඳහන් වචන කියමින් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ නමැති දේව ප්‍රසාද නිධානය ස්ථාපිත කළ සේක.

උන් වහන්සේ රොටී ගෙන තුතිපුදා ඒවා කඩා, ඔවුන්ට දී "ඔබ උදෙසා දෙනු ලබන මාගේ ශරීරය මේ ය" මා සිහි කිරීම පිණිස මෙය කරන්නැ" යි වදාළ සේක.

(ලූක් 22:19)

පූජාප්‍රසාදීන් වහන්සේලා දිව්‍ය පූජාව පවත්වමින් අන්තිම රාත්‍රි භෝජනයේ දී ජේසුස් වහන්සේ ස්ථාපිත කළ එම දේව ප්‍රසාද නිධානය අඛණ්ඩ ව සිහි කරති. තව ද පූජකවරය මගින් ආත්මය තුළ නොමැකෙන ලාංඡනයක් සනිටුහන් වේ. එම නිසා මෙම දේව ප්‍රසාද නිධානය ලබා ගත හැක්කේ එක් වරක් පමණි.

**පූජාප්‍රසාදිතුමන්ලාගේ සේවාවන්**

- ★ සුවිශේෂය දේශනා කිරීම
- ★ සැබෑ එඬේරකු වීම
- ★ දිව්‍ය පූජාව පැවැත්වීම
- ★ දේව ප්‍රසාද නිධාන දානය කිරීම
- ★ දෙවියන් වහන්සේ හා ජනතාව අතර මැදිහත්කරුවකු වීම
- ★ දේව ජනතාව දෙවියන් වහන්සේ වෙතට රැගෙන යාම
- ★ මීසම් ජනතාවට අවශ්‍ය ආත්මික උපකාර ලබා දීම
- ★ ජනතාව ආසිරි ගැන්වීම
- ★ දහම් පාසල් පවත්වා ගෙන යාම
- ★ දහම ඉගැන්වීම
- ★ අවමංගල්‍ය පිළිවෙත් පැවැත්වීම
- ★ නිවෙස් සහ පවුල් බැහැදැකීම
- ★ දිළිඳුනට උදව් උපකාර කිරීම.

මෙලෙස අපට සහාය වන පූජාප්‍රසාදිතුමන්ලාගේ කාර්ය සාර්ථක කර ගැනීම සඳහා එතුමන්ලාට සහාය වීම කිතුනු දරුවන් වන අපගේ යුතුකමකි. ඒ නිසා අපි සැම, එතුමන්ලාගේ සේවයට සහාය වෙමු. පහත පින්තූරවලින් එවැනි අවස්ථා කිහිපයක් දැකිය හැකි ය.



12.2 රූපය - පූජාවට උදව්වන දරුවකු ලෙස



12.3 රූපය - දේව ප්‍රකාශන/විශ්වාසකයින්ගේ යැදුම් වැනි දෑ කියවමින්



12.4 රූපය - ගීතිකා කණ්ඩායමට එක් වී



12.5 රූපය - දේවස්ථානය ශුද්ධ පවිත්‍ර කරමින්

## ආශිර්වාදකාර බන්ධනය



12.6 රූපය - අශිර්වාදකාර බන්ධනය සිදු කරන අවස්ථාවක්

### ආශිර්වාදකාර බන්ධනය ස්ථාපිත කිරීම

දෙවියන් වහන්සේ විසින් ආරම්භ කළ විවාහය, ජේසුස් වහන්සේ දේව ප්‍රසාද නිධානයක තත්ත්වයට උසස් කළ සේක.

දෙවි සමිඳාණන් වහන්සේ කතා කොට, "මිනිසා තනි ව විසීම සුදුසු නැත; ඔහුට සුදුසු සහකාරියක මවා දෙන්නෙමි" යි වදාළ සේක.

(උත්පත්ති 2:18)

එහෙත්, මැවීමේ මුල සිට ම දෙවියන් වහන්සේ ඔවුන් ස්ත්‍රී පුරුෂ වශයෙන් මැවූ සේක. ඒ හේතුකොට ගෙන මිනිසෙක් තම පියා ද මව ද අතහැර සිය භාර්යාවට ඇලුම් වන්නේ ය. ඒ යුවළ ද එක ම මාංසයක් වෙති. මෙසේ ඔව්හු එවක් පටන් දෙදෙනෙක් නොව එක් කෙනෙක් වන්නෝ ය. එබැවින් දෙවියන් වහන්සේ එක් කළ අය මනුෂ්‍යයා වෙන් නොකෙරේ වා!" යි වදාළ සේක.

(මාක් 10:6-9)

## දෙමව්පියන් වෙනුවෙන් දරුවන්ගේ යුතුකම් හා වගකීම්

| | |
|---|---|
| උපදේශකයා 3:12-16 | • පියාගේ මහලු වියේ දී ආධාර කරන්න<br>• පියාගේ සිතට වේදනා නොදෙන්න<br>• කල්පනා ශක්තිය අඩු වුව ද පියාට අනුකම්පා කරන්න<br>• පියා ව අත් නොහරින්න<br>• මව කෝප නොකරන්න |
| උපදේශකයා 7:27-28 | • මුළු සිතින් පියාට ගෞරව කරන්න<br>• මව විඳි ප්‍රසව වේදනාව කිසි දිනෙක අමතක නොකරන්න<br>• දෙමාපියන් ඔබ මෙලොවට බිහි කළ බව අමතක නොකරන්න |
| කොලොස්සි 3:20 | • සියලු කාරණාවල දී දෙමාපියන්ට කීකරු වන්න |
| එපිස 6:1-2 | • දෙමාපියන්ට කීකරු වන්න<br>• ඔබේ පියාටත් මවටත් ගෞරව කරන්න |


12.7 රූපය - දෙමාපියන් නැමදීම

මෙම චිත්‍රය දෙස බලන්න. තම දෙමාපියන්ගේ දෙපා නමදින දරුවන් දෙදෙනකු ඔබට දැකිය හැකි ය. එලෙස අපිත් නොපැකිළ ව අපගේ දෙමාපියන්ගේ දෙපා නැමදිය යුත්තෙමු. එමෙන් ම අප වෙනුවෙන් දිවි කැප කරන ඔවුනට අප සහාය විය යුතු ය. ශිෂ්‍යයින් ලෙස අපගේ අධ්‍යාපන කටයුතු සාර්ථක කර ගනිමින්, ඔවුන් සතුටු කළ යුතු ය. නිතර ම ගෙදර සාමය ඇති කරන ආකාරයේ ක්‍රියාවල නිරත විය යුතු ය. මන්ද ඔවුහු අපට ජීවිතය ලබා දී අප පෝෂණය කරති. අපට අධ්‍යාපනය ලබා දෙති. අපගේ ආධ්‍යාත්මික කටයුතු පිළිබඳ ව සොයා බලති. අප උනන්දු කරවති.

**ක්‍රියාකාරකම**

1. පූජකවරය ස්ථාපිත කිරීම හා පූජකතුමන්ලාගේ සේවාවන් ඇතුළත් වාර්තාවක් සකසන්න.
2. පවුල තුළ දරුවන්ගේ යුතුකම් හා වගකීම් කිහිපයක් නිර්මාණාත්මක ව පෝස්ටරයකින් ඉදිරිපත් කරන්න.



***ජීවිතයට බිඳක්***

*දෙමාපියන්ට හා මීසමේ පියතුමන්ට කීකරු වන්න.*

# 13 දස පනත



13.1 රූපය - සීනයි කඳු මුදුනේ දී දස පනත ලබාදීම

මෙම චිත්‍රය මගින් පෙන්නුම් කරන්නේ, සීනයි කඳු මුදුනේ දී දෙවියන් වහන්සේ මෝසෙස් තුමාට දස පනත දුන් ආකාරය යි. මෝසෙස් තුමා දස පනත ලබා ගැනීමට පෙර දින 40ක් යාච්ඤා කළේ ය.

යහපත් ජීවිතයක් ගත කිරීමට මඟ පෙන්වීම සඳහා දෙවියන් වහන්සේ අපට දස පනත දුන් සේක. දේව ප්‍රේමය පදනම් කරගනිමින් අසල්වැසියන්ට ප්‍රේම කිරීම, කිතු දහමේ මූලික ඉගැන්වීම යි. ඒ සඳහා දේව පනත් අනුසාර කළ යුතු ය.

## දස පනත

**පළමු පනත් තුන**

1. සැබෑ වූ එක ම දෙවියන්ට පමණක් වන්දනා කරව
2. දෙවියන් වහන්සේගේ ශ්‍රී නාමය ගැන බොරුවටවත් නිරන්තරයටවත් නොදිවුරව
3. ඉරුදිනත් ණය මංගල දිනත් නිවාඩු වලංගු කරව

**ඉතිරි පනත් හත**

4. මවුපියන්ට සංග්‍රහ කරව
5. ජීවිතය විනාශ නොකරව
6. කාමමිථ්‍යාචාරය නොකරව
7. සොරකම් නොකරව
8. බොරු සාක්ෂි නොකියව
9. පරදාර ආලය නොකරව
10. අන්වස්තු ආසා නොකරව

මෙම දේව පනත්වලින් පුද්ගලයාට සදාචාර සම්පන්න හා නීති ගරුක පුද්ගලයකු වීමට මග පෙන්වයි.

| දේව පනත් | අපට ලැබෙන පණිවිඩ |
|---|---|
| පළමු දේව පනත | ත්‍රිත්වික දෙවිඳුන්ට පමණක් වන්දනා කිරීමට අපට නියම වී ඇත. |
| දෙවන දේව පනත | වැදගත් හේතුවක් නොමැති ව නිකරුණේ දිවුරුම් දීමත් බොරුවට දිවුරුම් දීමත් ශුද්ධ වූ දේට ශාප කිරීමත් නොකළ යුතු ය. |
| තුන්වන දේව පනත | සම්පූර්ණ දිව්‍ය පූජා යාගයට ඉරුදින හා ණයමංගල දිනවල දී සහභාගි විය යුතු ය. විවේකී ව ගත කරමින් අනුනට උදව් උපකාර කළ යුතු ය. එම දිනවල සහ සැම දිනක ම වැරදි ක්‍රියා නොකර ශුද්ධවත් ව ගත කළ යුතු ය. |
| හතරවන දේව පනත | මිහිපිට දෙවියන් වහන්සේ නියෝජනය කරන අපේ දෙමාපියනට ගරු කළ යුතු ය. ගුරුවර-ගුරුවරියන්ට ද වැඩිමහල් අයට ද ගු. සභා ශ්‍රේෂ්ඨයන්ට ද රාජ්‍යය පාලකයන්ට ද ගරු කළ යුතු ය. |

| | |
|---|---|
| පස්වන දේව පනත | අසල්වැසියාගේ ශාරීරික හා ආධ්‍යාත්මික යහපතට ගරු කර ඔහු සමග සමාදානයෙන් ජීවත් විය යුතු අතර, අපගේ ශරීර සෞඛ්‍යය ගැන ද සැලකිලිමත් විය යුතු ය. |
| හයවන දේව පනත | අසභ්‍ය වචන කථා කිරීම, අසභ්‍ය දෑ බැලීම වැනි දෑ නොකර පිරිසිදු හිතක් හා යහපත් චරිතයක් ගොඩනගා ගත යුතු ය. |
| හත්වන දේව පනත | අනුන් සතු දේ නොගන්නටත් ඒවා ආරක්ෂා කරන්නටත් අනුන්ගේ අයිතියට ගරු කරන්නටත් පුරුදු විය යුතු ය. |
| අටවන දේව පනත | සෑම කරුණක දී ම සත්‍යවාදී විය යුතු ය |
| නමවන දේව පනත | විවාහකයකු සමග ප්‍රේම සම්බන්ධතාවක් කිසි දිනක ඇති කර නොගත යුතු ය. |
| දහවන දේව පනත | ලද පමණින් සතුටු වී, අනුන්ගේ යහපත ගැන ද සතුටු වන්නට නියම වේ. |

ඉහත වගුවෙන් දස පනත අනුව ජීවත් වීමට අපට මාර්ගෝපදේශයක් ලබා දෙයි.

**ක්‍රියාකාරකම**

දස පනත අනුපිළිවෙළට ලියා නිර්මාණාත්මකව ඉදිරිපත් කරන්න.



**ජීවිතයට බිඳක්**

*රාත්‍රී නිදා ගැනීමට පෙර එක් එක් පනතට විරුද්ධ ව කටයුතු කළ අවස්ථා සිහිකර, වරදක් සිදු වී ඇත්නම් දෙවියන් වහන්සේගෙන් සමාව ඉල්ලන්න. නැවත එම වැරදි නොකිරීමට ඉටා ගන්න.*

# 14 දේව ප්‍රේමය



14.1 රූපය - ෂද්‍රක්, මේෂක් හා අබෙද්නෙගෝ ගිනි උදුනේ නොදැවී සිටින අයුරු

ඉතා ඈත අතීතයේ බබිලෝනිය නම් රටේ නෙබුකද්නෙශර් නම් මහා බලවන්ත රජෙක් සිටියා. සැබෑ වූ එක ම දෙවි පියාණන් වහන්සේ නොඇදහූ මේ රජතුමා වෙනත් දෙවිවරුන් ඇදහූ කෙනෙක්.

තම සේවකයන් ලවා විශාල රන් රූපයක් සාදවා ගත් මේ රජතුමා බබිලෝනි රටේ "දූරා" නම් ස්ථානයේ එම රන් රූපය තබා එයට රට වැසි සියල්ලන් වන්දනා නමස්කාර කළ යුතු බවට රාජ ආඥාවක් නිකුත් කළා. රාජ ආඥාව කඩකරන සියල්ලන්ට මරණ දඬුවම නියම කළා.

එහෙත් ඒ රටේ සැබෑ වූ දෙවියන් වහන්සේට පමණක් මුළු හදවතින් ම වන්දනා කළ, ගෞරව කළ ආදරය කළ ෂද්‍රක්, මේෂක් හා අබෙද්නෙගෝ නම් ජුදෙව් ජාතිකයන් තිදෙනෙක් සිටියා. මේ

අය නෙබුකද්නෙශර් රජුගේ රන් රූපයට වන්දනා කිරීම ප්‍රතික්ෂේප කළා. මේ පිළිබඳ ව කෝපාවිෂ්ට වූ රජතුමා ගිනි උදුන සාමාන්‍ය ප්‍රමාණයට වඩා සත් ගුණයක් රත්කොට එහි ඇවිළෙන ගින්නට හෙළා, මේ තිදෙනා මරණයට පත් කරන්නට අණ කළා. ඒ තිදෙනා ව ගිනිඋදුනට ගෙන ගිය අය, පිටතට විහිදී ආ ගිනි දළුවලින් දැවී මළ නමුත් මේ තිදෙනාගේ කෙස් ගහක්වත් පිළිස්සුණේ නැහැ. ඔවුන් ඉතා ප්‍රීතියෙන් ගිනි උදුන මැද සිටින ආකාරය රජු හා එහි සිටි අනෙක් සියල්ලෝ ම දැක පුදුමයට පත් වුණා. මේ සිදුවීම දුටු නෙබුකද්නෙශර් රජතුමා තමන් සෑදූ රන් රූපය ඉවත ලා එද පටන් සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට වන්දනා කරන්නට පටන් ගත්තා. රට වැසියන්ට ද එසේ කරන්නට අණ කළා.

(දානියෙල් 3)

එද ඒ අය ගින්නෙන් මුදගත් එක ම දෙවියන් වහන්සේට අදත් අප වන්දනා නමස්කාර කරනවා. එමෙන් ම සැබෑ වූ එක ම දෙවි පියාණන්ට පමණක් වන්දනා කරන්නට පළමු දේව පනතින් අපට නියමකර තිබෙනවා. වර්තමාන සමාජයේ ගස්කොළන්, ප්‍රතිමා, සත්ත්ව රූප, වැනි විවිධාකාර වූ දේවල්වලට වන්දනා කරන බොහෝ අයට මෙය කදිම ආදර්ශයකි.

එක ම දෙවියන් වහන්සේට පමණක් අප වන්දනා නමස්කාර කළ යුතු ය. එවිට ෂද්‍රක්, මේෂක් හා අබෙද්නෙගෝ ව ගින්නෙන් මුදගත් සැබෑ වූ එක ම දෙවියන් වහන්සේ, අප සමගත් සිටිමින් අපවත් සැම උවදුරකින් ම ආරක්ෂා කරනවා. එමෙන් ම සැම ජීවිත අභියෝගයක් ම ජය ගන්නට අවශ්‍ය වන දෙවි පියාණන් වහන්සේගේ ශුද්ධ වූ බලය අපට නො අඩුව ලැබෙන බව ස්ථිරයි.

සැබෑ වූ එක ම දෙවි පියාණන් වහන්සේට නමස්කාර කිරීම පිළිබඳ ව අපට නියම කෙරෙන දේව පනත් තුනෙන් දෙකක් නම්;

1. සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට පමණක් වන්දනා කරව.
2. දෙවියන් වහන්සේගේ ශ්‍රී නාමය ගැන බොරුවටවත් නිරන්තරයටවත් නොදිව්රව.

මේ දේව පනත් දෙක පිළිබඳ ව ශුද්ධ ලියැවිල්ලේ ද්විතීය නීති සංග්‍රහය පොතේ පහත සඳහන් පාඨ වෙත අපේ අවධානය යොමු කරමු.

මා හැර අන් කිසි ම දෙවි කෙනකු නුඹට නොවිය යුතු ය. නුඹ සඳහා නෙළූ රූපයක් හෝ ඉහළ අහසෙහි වත් පහළ පොළොවෙහි වත් ඇති කිසි ම වස්තුවකට සමාන දෙයක් හෝ නුඹ සාද නොගන්න. නුඹ ඒවාට නමස්කාර නොකරන්න; වැඳුම්පිදුම් නොකරන්න ....... නුඹේ දෙවි සමිඳාණන් වහන්සේගේ නාමය අගරු ලෙස භාවිත නොකරන්න. යමෙක් ඒ නාමය අගරු ලෙස භාවිත කරන්නේ ද ඔහුට උන් වහන්සේ දඬුවම් කරන සේක.

(ද්විතීය නීති සංග්‍රහය 5:7-9,11)



14.2 - රූපය සැබෑ වූ දෙවියන් වහන්සේට පමණක් වන්දනා කරන ජනතාවක්

ශුද්ධ ලියැවිල්ලේ සඳහන් වන මෙම දේව පනත් කිතුනු අප පිළිපදින්නට අවශ්‍ය ය. උතුම් වූ දෙවියන් වහන්සේට අපගේ ගෞරවාදරය එමගින් පුදකළ හැකි ය. පළමු හා දෙවන දේව පනත් නිරතුරුව ම අපගේ මතකයේ තබා ගනිමු.

| i |
| --- |
| සැබෑ වූ එක<br>ම දෙවියන්<br>වහන්සේට<br>පමණක්<br>වන්දනා<br>කරව |

| ii |
| --- |
| දෙවියන්<br>වහන්සේගේ<br>ශ්‍රී නාමය ගැන<br>බොරුවටත්<br>නිරන්තරයටවත්<br>නොදිවුරව |

පළමු හා දෙවන දේව පනත්වලට අනුව කළ යුතු දේ හා නොකළ යුතු දේ ගැන සලකා බලමු.

| දේව පනත | කළ යුතු දේ | නොකළ යුතු දේ |
| --- | --- | --- |
| පළමු පනත | • සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට පමණක් වන්දනා කිරීම<br>• දිනපතා සියලු වැඩ ආරම්භ කිරීමට පෙර දෙවියන් වහන්සේට නමස්කාර හා ප්‍රශංසා කර යාච්ඤා කිරීම<br>• ජීවිතයේ සැම අභියෝගාත්මක අවස්ථාවක දී ම දෙවි පියාණන් වහන්සේ කෙරෙහි විශ්වාසයෙන් සිටීම<br>• මරණය දක්වා ම දෙවි පියාණන් වහන්සේට විශ්වාසවන්ත වීම | • කිසියම් පුද්ගලයකුට හෝ දෙයකට වන්දනා කිරීම<br>• වෙනත් දෙවිවරු ඇදැහීම<br>• රූප වන්දනාව<br>• මිථ්‍යා ඇදැහිලි වන බලි තොවිල්, හූනියම්, යන්ත්‍රමන්ත්‍ර, මතුරන ලද තෙල් වර්ග හා නූල් භාවිත කිරීම<br>• නිමිති, වේලාව, අංජනම් හා නැකත් බැලීම<br>• අන්‍ය ආගමික වත් පිළිවෙත්වලට සහභාගි වීම |

| | | |
|---|---|---|
| දෙවන දේව පනත | • සෑම විට ම සත්‍ය පමණක් ප්‍රකාශ කිරීම<br>• අධිකරණයේ දිවිරීමෙන් පසු සත්‍ය පමණක් ම ප්‍රකාශ කිරීම | • දෙවි පියාණන් වහන්සේගේ නාමයෙන් දිවිරීම<br>• අධිකරණයේ දී දිවුරා අසත්‍ය ප්‍රකාශ කිරීම |

දෙවි පියාණන් වහන්සේ ලෙස සලකා කිසි ම පුද්ගලයකුට හෝ දෙයකට වන්දනා නොකළ යුතු බව ද්විතීය නීති සංග්‍රහයේ 5:7-8 වගන්තිවලින් ඔබ ඉගෙන ගත්තා.

ශුද්ධවර ප්‍රතිමා අපට යාච්ඤාව සඳහා පහසුවකි. අදාළ පුද්ගලයන් පිළිබඳ චිත්ත රූප මවා ගැනීමට ඒවා අපට ඉඩකඩ සලසයි. එහෙත් ශුද්ධවන්තයන්ට අප වෙනුවෙන් කළ හැක්කේ, යාච්ඤා කිරීම පමණයි. අප ඒ ශුද්ධවර ප්‍රතිමා ඉදිරියේ යාච්ඤා කළ යුත්තේ, බාරහාර විය යුත්තේ අප වෙනුවෙන් දෙවි පියාණන් ඉදිරියේ මැදහත් වන ලෙස ය.

අපට අවශ්‍ය සියල්ල දෙන්නේත් දිය හැක්කේත් දෙවි පියාණන් වහන්සේට පමණි. එසේ ම ස්වර්ගය කරා අප යන ගමනේ දී ශුද්ධවන්තයන් අගනා ආදර්ශයක් ලබා දී තිබෙනවා. එබැවින් ශුද්ධවන්තයන් සඳහා සිදු කෙරෙන භක්ති අභ්‍යාස සියල්ල ඒ අයට කෙරෙන ගෞරවයන් සඳහා පමණක් විය යුතු ය.

තව ද අන්‍ය ආගමික වත් පිළිවෙත් සිදු කිරීම, බාරහාර වීම, වන්දනා කිරීම යන කරුණු ද පළමු දේව පනතට විරුද්ධ පාපයන් වෙනවා. මිථ්‍යා ඇදහිලි හා රූප වන්දනාව දෙවි පියාණන් වහන්සේට පිළිකුල් දේ ලෙසයි ශුද්ධ ලියැවිල්ලේ සඳහන් වන්නේ.

ඔබ මා සුරකින දෙවි පියාණන් වහන්සේ අනාදිමත් කාලයේ දී අප පියවරුන්වත් ලෝක ආරම්භයේ සිට ඔවුන් වහන්සේගේ ජනතාවත් සුරක්ෂිත කර ඇති ආකාරය චමත්කාර අන්දමින් ශුද්ධ ලියැවිල්ලේ බොහෝ ස්ථානවල සඳහන් වෙනවා. "නික්මයාම" පොත මීට කදිම නිදසුනක්. එදා මෙන් ම අදත් අපගේ දෙවි පියාණන් වහන්සේ ඔබ මා සුරකින බව ස්ථිරයි.

එබැවින් අප සැම;

- ★ දෙවි පියාණන් වහන්සේට පමණක් වන්දනා කරමු.
- ★ ඔවුන් වහන්සේගේ ශ්‍රී නාමයට ගෞරව කරමු.
- ★ දෙවි පියාණන් වහන්සේට ප්‍රසන්න ලෙස අපේ ජීවිත ගත කරමු.

ධර්මිෂ්ඨ ලෙස ජීවත් වෙමින් ඔබ මා සිදුකරන වන්දනාව හා ප්‍රශංසාව තුළින් දෙවි පියාණන් වහන්සේගේ ආශිර්වාද නොසිදෙන ගංගාවක් ලෙස ගලා එන අයුරු අත්දකිමු. එම ප්‍රීතිමත් අත්දැකීම ලබන්නට ඔබටත් පුළුවන්. ඒ සඳහා ඔබත් උත්සාහ කරන්න.

**ක්‍රියාකාරකම**

(1) පහත සඳහන් වැකි හරි නම් "✓" ලකුණ ද වැරදි නම් "X" ලකුණ ද ඉදිරියෙන් ඇති වරහන් තුළ යොදන්න.

i. දෙවියන් වහන්සේට පමණක් නමස්කාර කළ යුතු ය. ( )

ii. ජීවිතයේ දුක් කරදර සහිත අවස්ථාවන්හි දී අංජනම් බැලීම වරදකි. ( )

iii. වෙනත් ආගම්වලට ගෞරවයෙන් සැලකීම හොඳ කිතුනු ගුණාංගයකි. ( )

iv. පළමු දේව පනත නම්, "දෙවිඳුන්ගේ ශ්‍රී නාමය අගරු ලෙස භාවිත නොකරන්න" යන්න යි. ( )

v. වෙනත් දෙවිවරු ඇදහීමෙන් පළමු පනත පූර්ණත්වයට පත් නොවේ. ( )

vi. ඕනෑ ම අවස්ථාවක දෙවිඳුන්ගේ නාමයෙන් දිව්රීමට අපට හැකි ය. ( )

vii. නිවසේ කුඩා දරුවකු සිටින විට දී "බාලගිරි දෝෂය අද නොවේ හෙට" යනුවෙන් ලිවීමට අවශ්‍යය ය. ( )

viii. විභාගයකට පෙර අන්‍ය ආගමික ස්ථානයකට බාරහාර වීමට අපට හැකි ය. (  )

(2) පළමු හා දෙවන දේව පනත්වලට එකඟවන හා විරුද්ධ වන ක්‍රියාවන් දක්වෙන පෝස්ටරයක් නිර්මාණය කරන්න.

(3) පළමු හා දෙවන දේව පනත් පිළිපැදීමේ අගය හා ඒවාට එකඟ හා විරුද්ධ දේ සඳහන් විරිදු පංතියක් නිර්මාණය කර, ගායනා කරන්න.



**_ජීවිතයට බිඳක්_**

★ *සෑම දිනක ම උදෑසන අවදි වූ විට සුළු මොහොතක් නිහඬ ව යාච්ඤා කරන්න.*

★ *හූනන් කෑ ගැසීම, බළලුන් ඇඬීම, බල්ලා කනපට ගැසීම වැනි ජන ජීවිතයේ පවත්නා මිථ්‍යා විශ්වාසවලට වඩා බලවත් ව සර්වබලධාරී දෙවි පියාණන් වහන්සේ ඔබට ආදරය කරන බවත්, ආරක්ෂා කරන බවත් විශ්වාස කරන්න.*

# 15 ඉරුදින ශුද්ධවත් ලෙස ගත කරමු



15.1 රූපය - ඉරුදින දිව්‍ය යාගයට සහභාගි වන මීසම් ජනතාව

අපි මෙම ගීතිකාව ගායනා කරමු.

අහස පොළොව සිවුපාවුන් ගස්කොළන් මවා
එතුමන්ගේ මහිමෙ නිසා මිනිසා මැව්වා
එතුමන් වදිමු - එතුමන් ගයමු
රස වදනින් එතුමන් හට අපි ගී ගයමු

පුන ගැයුම :

එන්න එන්න ඇතුළු වන්න සමිඳු මැදුරටා
ගී ගයමින් එතුමන්ගේ මහිමය උදෙසා

කුරුසේ යාගයෙන් අප ව පවින් ගලවලා
සදා සැපත නැවත අපට හිමි කර දුන්නා
එතුමන් ගයමු - එතුමන් වදිමු
එම යාගය නැවත පුදමු අපි සැම බැතියෙන්

(කිතුනු ගී අංක 08)

මෙම ගීතිකාවේ සඳහන් අකාරයට;

1. ඔබට ආරාධනා කරන්නේ කුමන ස්ථානයකට ඇතුළු වීමට ද?
2. කුමන කාර්යයක් කිරීම සඳහා ඔබට ආරාධනා කරයි ද?
3. ගැයුමෙන් වැයුමෙන් දෙවි පියාණන්ට වන්දනා කිරීම යෝග්‍ය බවට හේතු **දෙකක්** ඉදිරිපත් කරන්න.
4. ජේසුස් වහන්සේගේ කුරුසියේ යාගයෙන් අපට හිමි කර දුන්නේ කුමක් ද?
5. දෙවියන් වහන්සේට නමස්කාර, ප්‍රශංසා හා ස්තුති කිරීමට මීසම් සංසයක් ලෙස සතියකට වරක් අනිවාර්යයෙන් එකතු වන දිනය කුමක් ද?

සබත් දවස ශුද්ධ ලෙස පැවැත්වීමට සිතට ගන්න. දවස් හයක් තුළ නුඹ වෙහෙස වී නුඹේ සියලු වැඩ කළ යුතු ය. එහෙත් හත්වන දවස නුඹේ දෙවි සමිඳුණන් වහන්සේට කැප වූ සබත ය. එදින නුඹවත්, නුඹේ පුතුවත්, දුවවත්, නුඹේ සේවකයා වත්, සේවිකාවවත්, නුඹේ සතෙකුවත්, නුඹේ වාසල් දොරටු සීමා ඇතුළ සිටින අමුත්තෙකුවත් කිසි වැඩක් නොකළ යුතු ය. මන්ද, සමිඳාණන් වහන්සේ වන මම දින හයක් තුළ අහස හා පොළොව ද සමුද්‍රය ද ඒවායේ ඇති සියල්ල ද සාද, සත් වන දවස නිවාඩු ගත්තෙමි. එබැවින් උන් වහන්සේ සබත් දවසට ආශීර්වාද කොට එය විශුද්ධ කළ සේක.

(නික්මයාම 20:8-11)

ඉරු දිනත් ණය මංගල්‍ය දිනත් ශුද්ධ ලෙස ගත කරන්න.

මෙම දේව පනතට අනුව ඉරු දිනයේ දීත් ශුද්ධ වූ සභාව ණය මංගල්‍යයන් ලෙස නම්කර ඇති දිනයන්හි දීත් අප අනිවාර්යයෙන් ම දිව්‍ය පූජාවට සහභාගි විය යුතු ය. එබැවින් එම ණය මංගල්‍ය දින අප දැන සිටීම වැදගත් ය.

## ශ්‍රී ලංකාවේ කතෝලිකයන්ට නියම වන ඝෘය මංගල්‍ය දිනයන්

| | | | |
|---|---|---|---|
| 1. | සෑම ඉරුදිනක් ම | | |
| 2. | ජනවාරි 01 | - | පරිශුද්ධ දේව මාතාවන්ගේ මංගල්‍යය |
| 3. | අගෝස්තු 15 | - | මරියෝත්තමාවන්ගේ ස්වර්ගාරෝපණ මංගල්‍යය |
| 4. | දෙසැම්බර් 08 | - | දෙවි මවුන්ගේ නිර්මල පිළිසිඳීමේ මංගල්‍යය |
| 5. | දෙසැම්බර් 25 | - | නත්තල් මංගල්‍යය |

අප විසින් ක්‍රිස්තුන් වහන්සේගේ පාස්කු අභිරහස හෙවත් ක්‍රිස්තුන් වහන්සේගේ **දුක්විඳීම, මරණය හා උත්ථානය** ප්‍රධාන වශයෙන් ඉරුදිනයන්හි සිහිපත් කරනු ලැබේ. උන්වහන්සේ සකල මිනිස් වර්ගයාගේ ම පාපවලට තම අමිල වූ රුධිරයෙන් වන්දි ගෙවා අප සැමට එම යාගය තුළින් පව් සමාවත් ස්වර්ග රාජ්‍යයේ උරුමයත් හිමි කර දුන් සේක.

එසේ පව් සමාව ලබා ගත් අප සැම මහත් ප්‍රීතියකින් හා උද්යෝගයකින් මීසම් පවුලක් ලෙස එකමුතු ව හා එක්සිත් ව ඉරුදින දිව්‍ය යාගයට සහභාගි විය යුතු ය. මරණය පරාජය කොට උත්ථානයේ ජයග්‍රහණය අත්කර දීම සඳහා තම එක ම පුත්‍රයාණන් වහන්සේ මෙලොවට එවීමට තරම් දෙවි පියාණන් වහන්සේ අපට ප්‍රේම කළ සේක. එබැවින් අප සැම දෙවි පියාණන් වහන්සේටත් මිනිස් වර්ගයා පාපයෙන් මුදා ගැනීමට දිවි පිදූ ක්‍රිස්තුන් වහන්සේටත් අපගේ වන්දනාව, ප්‍රශංසාව හා ස්තුතිය පුද කිරීම ඉරුදින දිව්‍ය යාගයේ ප්‍රධානතම අරමුණ යි.

අපගේ ජීවිත ශුද්ධ ලෙස හා ධර්මිෂ්ඨ ලෙස ගත කිරීම දෙවි පියාණන් වහන්සේ නිරන්තරයෙන් අපගෙන් බලාපොරොත්තු වන සේක. එබැවින් අප මවා සියල්ල අපට දනය කරන දෙවි පියාණන් වහන්සේට අපගේ කෘතඥතාව ප්‍රකාශ කළ හැකි මාර්ග අපි දැන් විමසා බලමු.

★ ඉරුදිනවලත් ඝෘය මංගල්‍ය දිනවලත් මුළු දිව්‍ය පූජාවට ක්‍රියාශීලි ව සහභාගිවීම

★ දහම් පාසලට සහභාගි වී දෙවි පියාණන් වහන්සේ ගැන දැනුම වර්ධනය කර ගැනීම

★ තම පවුල තුළ එකමුතුකම වර්ධනය කර ගැනීමට අවස්ථා සොයා ගැනීම (උදාහරණ:- එකට ආහාර ගැනීම, යාච්ඤා කිරීම)

★ ආධ්‍යාත්මික පෝෂණය ලබා දෙන්නා වූත්, ස්වේච්ඡා සේවාවන් කරන්නා වූත් විවිධ සමිති සමාගම්වලට සම්බන්ධ වීම

★ තම මිතුරන් ව ද ඉරුදින දිව්‍ය පූජාවට කැඳවාගෙන යාම

★ රෝගී වූවන් බැලීමට යාම

★ අසරණයන්ට පිහිට වීම

**සබත් දවසේ දී අප විසින් නොකළ යුතු කාර්යයන්**

1. දිව්‍ය පූජාව අතපසු කිරීම
2. ඉරුදින දිව්‍ය පූජාවට හා දහම් පාසලට සහභාගී නොවී උපකාරක පන්තිවලට හෝ විනෝද ගමන් බිමන් යාම
3. ඉරුදිනවල අනවශ්‍ය ලෙස මුදල් ඉපැයීමේ කාර්යයන්හි නිරතවීම
4. දේවස්ථානය තුළ කතා කිරීම, විහිළු තහළු කිරීම, ජංගම දුරකථන භාවිත කිරීම වැනි ක්‍රියා
5. අසංවර ඇඳුම් විලාසිතාවන්ගෙන් දිව්‍ය පූජාවට පැමිණීම

සබත් දිනවල හා ඣය මංගල්‍ය දිනවල නොකළ යුතු කාර්යයන්හි නියැලීමෙන් එදින ඔබ තුළ පවත්වා ගත යුතු ශුද්ධවන්තභාවය විනාශ වී යන බව සිහි තබා ගත යුතු යි.

ඉරු දිනත්, අන් දිනවලත් ශුද්ධ ලෙස හා ධර්මිෂ්ඨ ලෙස ගත කරන විට, ඔබ දෙවි පියාණන් වහන්සේට ප්‍රසන්න දරුවකු වෙනවා නොඅනුමාන යි. එවිට ඔවුන් වහන්සේගේ කරුණාව හා ආශිර්වාදය බහුල ලෙස ඔබගේ ජීවිතයට ලැබෙනු ඇත. ඔබේ ජීවිතය දේව ආශීර්වාදයෙන් හා සතුටින් පිරුණු ජීවිතයක් බවට පත්වෙයි. එබැවින් ඔබ හැම විට ම ශුද්ධවන්ත ව හා ධර්මිෂ්ඨ ලෙස ජීවත්වන්නට උත්සාහ කරන්න.

## ක්‍රියාකාරකම

(1) ප්‍රහේළිකාව පුරවන්න.

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| | 1 නි | | | 2 | | 3 ශු |
| | | | | | | |
| 4 ස | | | | න් | | |
| | | | | | | |
| | 5 | | | 6 | | |
| 7 | | | 8 | | | |
| | | | | | | |
| | | 9 | | | | |

**උපකාරක පද**

**පහළට :**

1. ශුද්ධ බයිබලයේ සබත් දවස ශුද්ධ ලෙස ගත කිරීමට උපදෙස් දී ඇති එක් ග්‍රන්ථයකි.
2. සබත් දින මෙවැන්නන් බැලීමට යාම උතුම් ක්‍රියාවකි.
3. ඉරුදිනයන්හි දී විශේෂයෙන් ම අප ජීවිත මෙලෙස ගත කිරීමට උත්සාහ කළ යුතු ය.
6. ඉරුදිනයන්හි දි වැඩි වැඩියෙන් මෙම ක්‍රියාවල නිරතවීම දෙවි පියාණන්ට ප්‍රසන්න වේ.
7. සබත ගැන කියැවෙන්නේ කී වැනි පනතින් ද?

**හරහට :**

4. සැම දෙනා සමග ම "එකමුතුකමින්" කටයුතු කිරීම යන අර්ථය දෙන පදයකි.
5. ක්‍රිස්තුන් වහන්සේ පරාජය කළේ මෙය යි.

8. ඉරුදින මෙම පාසලට සහභාගිවීමෙන් දෙවි පියාණන් පිළිබඳ දැනුම වර්ධනය කරගත හැකි වේ.
9. ඉරුදින මේ නමින් හැඳින් වේ.

(2) පිළිතුරු ලියන්න

1. දෙවි මවුන් වෙනුවෙන් පැවැත්වෙන ණය මංගල්‍ය දිනයන් හා මංගල්‍යයන් ලියන්න.
2. ඉරුදින අප විශේෂයෙන් සිහිපත් කරන සිදුවීම කුමක් ද?
3. දෙවි පියාණන් වහන්සේගේ ආශිර්වාද ලබා ගැනීමට අප ජීවත් විය යුත්තේ කවර ආකාරයට ද?

(3) පහත සඳහන් වගුව ඔබේ අභ්‍යාස පොතේ සටහන් කර ගෙන සම්පූර්ණ කරන්න.

| සබත් දිනයේ දී අප විසින් කළ යුතු දේ | සබත් දිනයේ දී අප විසින් නොකළ යුතු දේ |
|---|---|
| 1 | 1 |
| 2 | 2 |
| 3 | 3 |
| 4 | 4 |



**ජීවිතයට බිඳක්**

දිව්‍ය පූජාවට සහභාගි වනවිට;

- ★ හඬනගා යාච්ඤාවලට පිළිතුරු දෙමු.
- ★ කට පාඩමින් කිව නොහැකි යාච්ඤා පොත පෙරළාගෙන උච්චාරණය කරමු.
- ★ ගීතිකා පොතක් භාවිත කරමු.
- ★ යාච්ඤා කරන විට අත් වැඳගෙන සිටිමු.
- ★ වට පිට නොබලමු.
- ★ විහිළු නොකරමු.
- ★ අදාල ඉරියව් ප්‍රදර්ශනය කරමු.

# 16 සහෝදර ප්‍රේමය



16.1 - රූපය ප්‍රීතියෙන් සිටින පවුලක්

පවුල, පාසල හා සමාජය තුළ සිටින විවිධ අය සමග සතුටින් සමගියෙන් ජීවත් වන්නට අප කවුරුත් කැමතියි. එලෙස සතුටින් පිරුණු ජීවිතයක් ගත කරන්නට නම්, අප එකිනෙකාට ගරු කළ යුතු ය. අන් අයගේ ජීවිත උසස් කොට සලකන්නට පුරුදු විය යුතු ය.

එවැනි ප්‍රීතිමත් සමාජයක් ගොඩනැංවීමට දස පනතේ ඉගැන්වීම් තුළින් ලැබෙන මග පෙන්වීම අපි දැන් විමසා බලමු. අසල්වැසියාට ප්‍රේමය දැක්වීමට උගන්වන දේව පනත් හතක් තිබේ. එනම්, හතරවන පනතේ සිට දහවන පනත දක්වා වන දේව පනත් හත යි.

- හතරවන දේව පනත - මව්පියන්ට සංග්‍රහ කරව

"නුඹේ පියාට ද මවට ද ගෞරව කරව. එවිට නුඹේ දෙවි සමිඳාණන් වහන්සේ නුඹට දෙන රටේ බොහෝ කාලයක් ජීවත් වන්නෙහි ය."

(නික්මයාම 20:12)

"දරුවෙනි, සියලු කාරණාවල දී දෙමව්පියන්ට කීකරු වන්න. මන්ද, ඔබ එසේ කිරීම ස්වාමින් වහන්සේට ප්‍රීතියකි."

(කොලොස්සි 3:20)

- පස්වන දේව පනත - ජීවිත විනාශ නොකරව

"මිනී නොමරන්න."

(නික්මයාම 20:13)

"මිනී නොමරන්න. මිනී මරන කවරකු වුව ද විනිශ්චයට යටත්වනු ඇතැ'යි පැරැන්නන්ට කී බව ඔබ අසා ඇත."

(මතෙව් 5:21)

- හයවන දේව පනත - කාම මිථ්‍යාචාරය නොකරව

"කාම මිථ්‍යාචාරය නොකරව."

(නික්මයාම 20:14)

"ඔබගේ ශරීරය, ඔබට දෙවියන් වහන්සේ දෙවා වදාළ, ඔබ තුළ වැඩ වසන ශුද්ධාත්මයාණන්ගේ මන්දිරය වන බව ඔබ නොදන්නාහු ද? ඔබ ඔබට ම අයිති නැත. ඔබ මිලයකට ගත් අය වන්නහු ය. එබැවින් ඔබගේ ශරීර දේව මහිමය සඳහා යොදවන්න." (1 කොරින්ති 6:19-20)

- හත්වන දේව පනත - සොරකම් නොකරව

"සොරකම් නොකරව (නික්මයාම 20:15)
සොරුවත් කොල්ල කන්නෝවත් ලෝබයෝ වත් බේබද්දෝවත් නින්දා කරන්නෝවත් ගසා කන්නෝවත් දෙවියන් වහන්සේගේ රාජ්‍ය උරුම කර නොගන්නෝ ය."

(1 කොරින්ති 6:10)

- අටවන දේව පනත - බොරු සාක්ෂි නොකියව

"නුඹේ අසල්වැසියාට විරුද්ධ ව බොරු සාක්ෂි නොකියව."

(නික්මයාම 20:16)

"එබැවින් බොරු කීම අත්හැර දමා අසල්වාසී එකිනෙකා සමග සත්‍යය කතා කරන්න. මන්ද, අපි එකිනෙකා අන්‍යෝන්‍ය අවයවයෝ වෙමු."

(එපීස 4:25)

- නවවන දේව පනත - පරදූර ආලය නොකරව

"නුඹේ අසල්වැසියාගේ භාර්යාවට ..... ඇලුම් නොකරව."

(නික්මයාම 20:17)

- දහවන දේව පනත - අන් වස්තු ආශා නොකරව

"නුඹේ අසල්වැසියාගේ ගෘහයට නුඹ ඇලුම් නොකරව. ........ ඔහුගේ සේවකයාට හෝ සේවිකාවට හෝ ඔහුගේ ගවයාට හෝ කොටළුවාට හෝ නුඹේ අසල්වැසියා සතු වෙනත් කිසිවකට හෝ ඇලුම් නොකරව."

(නික්මයාම 20:17)

ඉහත දැක්වෙන දේව පනත්වලට අනුකූල ව අපගේ ජීවිත ගොඩනගා ගන්නේ නම්, අප ජීවත් වන සමාජය හැම කෙනකුට ම ප්‍රීතිය හා සාමය ඇති තැනක් වනු ඇත. බියෙන් සැකෙන් තොර ව හැම කෙනකුට ම ජීවත් වීමට හැකිවනු ඇත. එබැවින් මෙම ප්‍රේමයේ දේව පනත් ක්‍රියාවට නැංවීමේ දී අප විසින් කළ යුතු හා නොකළ යුතු දේ පිළිබඳ ව විමසා බලමු.

| දේව පනත | කළ යුතු දේ | නොකළ යුතු දේ |
|---|---|---|
| හතරවන දේව පනත<br><br>මව්පියන්ට සංග්‍රහ කරව | ★ දෙමව්පියන්, වැඩිහිටියන් හා ශ්‍රේෂ්ඨයින්ට ගරු කිරීම<br>★ දෙමව්පියන්ගේ හා වැඩිහිටියන්ගේ අවවාද අනුශාසනා පිළිපැදීම<br>★ තම යාච්ඤාවල දී දෙමව්පියන් හා වැඩිහිටියන් වෙනුවෙන් යාච්ඤා කිරීම<br>★ ඔවුන්ට ආදරයෙන් හා කරුණාවෙන් සැලකීම | ★ වැඩිහිටියන්ට අකීකරු වීම<br>★ වැඩිහිටියන් සමග වෛරයෙන් හා ක්‍රෝධයෙන් වාද කිරීම<br>★ වැඩිහිටියන් වේදනාවට පත් වන අයුරින් කටයුතු කිරීම<br>★ වැඩිහිටියන්ට හිංසා පීඩා කිරීම හා ඔවුන් විහිළුවට ලක් කිරීම |

| | | |
|---|---|---|
| පස්වන දේව පනත<br><br>ජීවිත විනාශ නොකරව | ★ සෑම ජීවිතයක් ම දෙවි පියාණන් වහන්සේගේ උතුම් තිළිණයක් ලෙස සැලකීම<br>★ තමාගේ මෙන් ම අන් අයගේ ජීවිත රැකගැනීම හා ආරක්ෂා කිරීම<br>★ රෝගී වූ විට නිසි ප්‍රතිකාර ගැනීම | ★ සියදිවි නසා ගැනීම<br>★ අන් අයගේ ජීවිතවලට හෝ ශරීරවලට හානි කිරීම<br>★ ශරීර සෞඛ්‍යයට අහිතකර ආහාර හා මත්ද්‍රව්‍ය භාවිත කිරීම<br>★ කේලාම් කීම<br>★ චරිත ඝාතනය |
| හය හා නව වන දේව පනත්<br><br>කාම මිථ්‍යාචාරය නොකරව<br><br>පරදර ආලය නොකරව | ★ විවාහ ජීවිතය දෙවි පියාණන් වහන්සේගෙන් ලද ශුද්ධ වූ ද ආශිර්වාද ලද්දා වූ ද ජීවිත ක්‍රමයක් බව සිතා කටයුතු කිරීම<br>★ මර්යාදාවට අනුකූල ව එනම් අන් අය පාපයට නොපොළඹවන ලෙස ඇඳුම් පැළැඳුම් භාවිතය<br>★ විවාහක පවුල තුළ ප්‍රීතිය හා සාමය ඇති වන ආකාරයට කටයුතු කිරීම | ★ අසභ්‍ය පොත්පත්, චිත්‍රපට හා පින්තූර බැලීම<br>★ ආශාවන්ට වහල් වීම |
| හත්වන සහ දහවන දේව පනත්<br><br>සොරකම් නොකරව | ★ අන් අයගේ දේපළ ආරක්ෂා කිරීම<br>★ වෙළඳ ව්‍යාපාරික කටයුතුවල දී සාධාරණ වීම<br>★ ණයට ගත් දේ නිසි වේලාවට ආපසු දීම | ★ සොරකම් කිරීම<br>★ ධනය හා වස්තුව ලෝභී ලෙස රැස් කිරීම |

| | | |
|---|---|---|
| අන් වස්තු ආශා නොකරව | | ★ අනුන් සතු දේ අයුතු ලෙස හෝ බලයෙන් ගැනීම<br>★ දේපළ නාස්ති කිරීම<br>★ පොදු දේපළ විනාශ කිරීම<br>★ වංචා කිරීම |
| අටවන දේව පනත<br>බොරු සාක්ෂි නොකියව | ★ සැමවිට සත්‍ය කතා කිරීම<br>★ දෙවියන් වහන්සේ මෙන් සත්‍යවාදී වීම | ★ බොරු කීම<br>★ වැරදි තීන්දු ලබා දීම<br>★ අසත්‍ය චෝදනා කිරීම<br>★ තම වරද අන් අය මත පැටවීම<br>★ තම වාසිය තකා සත්‍ය වසන් කිරීම |

පහත සඳහන් ගීතිකාව ගායනා කරන්න.

**පුන ගැයුම :**

සමිඳෙ ඔබෙ කුඩාරමේ - සැරිසරන්නෝ කවුරු දෝ
ඔබේ පිවිතුරු කඳුකරේ - පා තබන්නෝ කවුරුදෝ

1. හිතේ කිළිටක් නැති ව හැසිරෙන්නෝ
යුක්ති සහගත දෙයට හිත දෙන්නෝ
නොවක් හිතකින් ඇත්ත පවසන්නෝ
අනුන් අවමන් දිවෙන් නොකියන්නෝ

2. සොහොයුරන් හට නපුර නොපතන්නෝ
අනුන් හොඳ නම කිළිටි නොකරන්නෝ
සියලු දුසිරිත් කෙරෙන් දුරු වන්නෝ
සුසිරිතට නිරතුරු ව හිත දෙන්නෝ

3. මුදල් දී ගිනි පොළී නොකරන්නෝ
අල්ලසක් ගෙන අනුන් නොපෙළන්නෝ
අහිංසකයන් පෙළා නොතළන්නෝ
නිදොස් අය පිටැ වරද නොතබන්නෝ

3. කුරිරුවන් අත දුරින් දුරලන්නෝ
සමිඳු ජන බුහුමනින් සලකන්නෝ
සමිඳු බාරය පැහැර නොහරින්නෝ
මෙබඳු අයම' යි වාසනා ලද්දෝ
(කිතුනු ගී 211)

**ක්‍රියාකාරකම**

(1) පහත දැක්වෙන වගන්ති අයත් වන දේව පනතේ අංක, ඉදිරියෙන් ඇති වරහන් තුළ ලියන්න.

| වගන්තිය | අදාළ දේව පනතේ අංකය |
|---|---|
| i. නොවක් හිතකින් ඇත්ත පවසන්නෝ | (.....) |
| ii. අල්ලසක් ගෙන අනුන් නොපෙළන්නෝ | (.....) |
| iii. අනුන් හොඳ නම කිළිටි නොකරන්නෝ | (.....) |
| iv. නිදොස් අය පිට වරද නොතබන්නෝ | (.....) |
| v. අන් අයගේ වස්තුව ආරක්ෂා කිරීම | (.....) |
| vi. ශ්‍රේෂ්ඨයින්ට ගරු කිරීම | (.....) |
| vii. මර්යදාවට අනුකූල ව ඇඳුම් ඇඳීම | (.....) |
| viii. තම පවුල තුළ ප්‍රීතිය හා සාමය ඇතිවන අයුරින් කටයුතු කිරීම | (.....) |

(2) පහත සඳහන් ශුද්ධ ලියැවිලි පාඨ ශුද්ධ බයිබලයෙන් උපුටා ගෙන ඔබේ සටහන් පොතේ ලියන්න. එක් එක් පාඨයට අදළ දේව පනත ද ලියන්න.

i. නික්මයාම 20:12, 20:13, 20:14, 20:15, 20:16, 20:17
ii. ලෙවී ව්‍යවස්ථාව19:11
iii. මතෙව් 5:21
iv. කොලොස්සි 3:20
v. 1 කොරින්ති 6:10, 6:18
vi. එපීස 4:25



**ජීවිතයට බිඳක්**
**දැහැමි ලෙස ජීවත් වන්න.**

# 17 සතුරන්ටත් ප්‍රේම කරමු



17.2 රූපය - කුරුසයේ ජීවිතය පූජා කළ ජේසුස් වහන්සේ

මෙම ගීතිකාව ගායනා කරන්න.

**පුන ගැයුම :**

පෙම් කරන්න එකිනෙකාට - සුහද සොයුරු ප්‍රේමයෙන්
දිවි ගෙවන්න එකමුතු වී - සමිඳුන් තුළ සාමයෙන්

1. ඔබට වඩා අනුන් උතුම් කොට නිරතුරු සලකන්න
   උඩඟු නොවී අසල්වැසියනට බුහුමන් දක්වන්න
   අලස නොවී සිතට දිරිය ගෙන කටයුතු සපුරන්න
   සමිඳු කෙරේ බැතිය පෙරටු කොට සේවය සලසන්න

2. සැපතෙහි දී සිතෙන් උදම් නොව සතුටට පත්වන්න
   විපතෙහි දී නොපසුබටව තව ඉවසිලිමත් වන්න
   උදය හවා දෙවිඳු යැදුම නම් අතපසු නොකරන්න
   අසරණයන් පිහිට පතන විට පිළිසරණය වන්න

3. දුක් පීඩා කරන අය කෙරේ සාමය පතුරන්න
ඔබට පවා වරද කරන විට නපුරක් නොකරන්න
සතුටු සිනා රැළි නැගෙනා විට ඔබ ද සිනාසෙන්න
දුකට වැටී අනුන් පෙළෙන විට සැබැවින් දුක්වන්න
(කිතුනු ගී 214)

ඉහත ගීතිකාවෙන් ඔබේ ජීවිතයට එකතු කර ගත යුතු ගුණාංග මෙන් ම ඔබේ ජීවිතයෙන් ඉවත් කරගත යුතු දුර්ගුණ වෙන වෙන ම ලැයිස්තු ගත කරන්න.

එම කරුණු අතර ඔබට දුක්පීඩා කරන, එසේත් නැත්නම් සතුරුකම් කරන අයට පවා සමාව දීම අවශ්‍ය බව එයින් කියැවේ. සතුරන්ට සමාව දීම පිළිබඳ ව ශුද්ධ ලියැවිල්ලේ සඳහන් කරුණු ගැන විමසා බලමු.

"ඇසට ඇස ය, දතට දතය' යන කීම ඔබ අසා ඇත. එහෙත්, මම ඔබට කියමි, එදිරිකාරයාට විරුද්ධ ව එකට එක නොකරන්න. යමෙකු ඔබේ දකුණු කම්මුලට ගැසුවොත්, ඔහුට අනික් කම්මුල ද හරවන්න. යමෙකු නඩු කියා ඔබේ කමිසය ගන්න කැමති වූවොත්, ඔහුට ඔබේ කබායත් ගන්න අවසර දෙන්න. හේවා නිළධාරියකු තම බඩු පොදිය එක කිලෝමීටරයක් දුර උසුලාගෙන යන්න ඔබට බල කළොත්, ඔහු සමග එය කිලෝමීටර් දෙකක් උසුලාගෙන යන්න. ඉල්ලන්නාට දෙන්න; ඔබෙන් ණයට ගන්න කැමති අයට පිටු නොපාන්න."

(මතෙව් 5:38-41)

අපට ප්‍රේම කරන අයට ප්‍රේම කරන්නට අපට අපහසු නැත. එහෙත් අපට හිරිහැර කරන, සතුරුකම් කරන අයට ප්‍රේම කිරීම එතරම් පහසු නැත. එහෙත් අපට සතුරුකම් කරන අයටත් සමාව දිය යුතු බව ඉහත ශුද්ධ ලියැවිලි පාඨයෙන් අපට පෙන්වා දෙයි. සතුරුකම් කරන අයට එකට එක නොකළ යුතු බව පැහැදිලිව ම ප්‍රකාශ කරයි.

දෙවි පියාණන් වහන්සේගේ ආශිර්වාදය, කරුණාව හා දයාව සැම කෙනකුට ම එක හා සමානව ලැබේ. ඔවුන් වහන්සේ අප සැමට ප්‍රේම කරන සේක. එසේ ම අපත් අපගේ සතුරන්ට ප්‍රේම කළ යුතු බව ජේසුස් වහන්සේ ඉතා ම පැහැදිලි ව උගන්වා ඇත.

නුඹේ අසල්වැසියාට ප්‍රේම කරන්න, සතුරාට වෛර කරන්නැ'යි කී බව ඔබ අසා ඇත. එහෙත් මම ඔබට කියමි, ඔබේ සතුරන්ට ප්‍රේම කරන්න, ඔබට පීඩා කරන්නන් උදෙසා යාච්ඤා කරන්න. මෙසේ ඔබ ස්වර්ගයෙහි වැඩ සිටින ඔබේ පියාණන් වහන්සේගේ පුත්‍රයෝ වන්නහු ය. කුමක් නිසා ද ඔවුන් වහන්සේ දුදනන් හට හා සුදනන් හට තම හිරු එළිය උදා කරවන සේක. දැමිටුවන් හට හා අදැමිටුන් හට වැසි වස්වන සේක. ඔබට ප්‍රේම කරන්නන්ට පමණක් ඔබ ප්‍රේම කරන්නහු නම්, එයින් ඇති විපාකය කුමක් ද? අයකැමියෝ පවා එසේ නොකර ද? ඔබේ සහෝදරයන්ට පමණක් ඔබ ආචාර කරන්නහු නම්, එහි ඇති විශේෂය කුමක් ද? විජාතිකයෝ පවා එසේ නොකරත් ද? එබැවින් ඔබේ ස්වර්ගීය පියාණන් වහන්සේ සර්ව සම්පූර්ණ ව සිටින්නාක් මෙන් ඔබ ද සර්ව සම්පූර්ණ වන්න.

(මතෙව් 5:43-48)

ඉහත ඉගැන්වීම් අනුව අපට පීඩා කරන සතුරකුට වුවත් අප හදවතින් ම ප්‍රේම කළ යුතු බව පැහැදිලි ය. දෙවි පියාණන් වහන්සේ සුදනන් හා දුදනන් හට එක හා සමානව ප්‍රේමය දක්වන සේක. දෙවි පියාණන් වහන්සේ මෙන් ම අපත් මිතුරන්ට හා සතුරන්ට ප්‍රේම කළ යුතු ය.

සතුරන්ට ප්‍රේම කිරීම අපහසු දෙයකි. එහෙත් තමන්ට මුළු ජීවිත කාලය පුරා ම නින්දා අපහාස කර, අවසානයේ විවිධ බොරු චෝදනා මගින් තමන් ව මරණයට පත් කළ අයට පවා, ජේසුස් වහන්සේ සමාව දුන් සේක.

ජේසුස් වහන්සේ කතා කොට, "පියාණෙනි, ඔවුන්ට කමා වුව මැනව, ඔවුන් කරන දෙය ඔව්හු නොදනිති" යි වදාළ සේක.

(ලූක් 23:34)

මේ වදන් ජේසුස් වහන්සේ ප්‍රකාශ කළ අවස්ථාව ඔබට මතක ද? දරාගත නොහැකි වේදනාවෙන් කුරුසියේ එල්ලී සිටින මොහොතක්. ජේසුස් වහන්සේගේ මුළු ශරීරය ම එක ම වණ කැළැල් ගොඩක්. නින්දා සහගත මරණයකට පත් වී ඇති අවස්ථාවක්. ඔවුන් වහන්සේට උසුළු විසුළු කරමින් ජය පැන් බොන සතුරන්ට මේ අවස්ථාවේ දී ජේසුස් වහන්සේ මුළු හදවතින් ම සමාව දෙනවා. උතුම් වූ ප්‍රේමය ලොවට ප්‍රකාශ කරන උතුම් මොහොතක් බවට ඒ අවස්ථාව පත්වෙනවා.

ජේසුස් වහන්සේ සතුරන්ට ප්‍රේම කළ ආකාරයට සතුරන්ට ප්‍රේම කළ අය කිහිප දෙනකු පිළිබඳ ව විමසා බලමු.

## ශුද්ධ වූ ස්තේපන් තුමා

ජේසුස් වහන්සේගේ අනුගාමිකයෙකු වූ ශුද්ධ වූ ස්තේපන් තුමා සතුරන්ට ප්‍රේම කළ ආකාරය ඔබ අසා තිබෙනවා ද? ශුද්ධ ලියැවිල්ලේ ඒ ගැන සඳහන් වේ. (ක්‍රියා 7:54-60). ශුද්ධ වූ ස්තේපන් තුමා දෙවි පියාණන් වහන්සේගේ සත්‍ය වූ ධර්මය ලොවට කියා දෙන්නට ඉදිරිපත් වූ අයෙකි. ඒ නිසා ම ඔහුට බොහෝ පීඩාවලට මුහුණ දෙන්නට සිදු විය.



17.3 රූපය - ශු. ස්තේපන් තුමාට ගල්ගසා මරා දැමීම

ජේසුස් ස්වාමීන් වහන්ස, මාගේ ආත්මය පිළිගත මැනව'යි කියා ස්තේපන් යාච්ඤා කරද්දී ඔව්හු ඔහුට ගල් ගැසූහ. ඔහු දණින් වැටී, "ස්වාමීන් වහන්ස, මේ පාපය ඔවුන් පිට නොතැබුව මැනව"යි මහත් හඬින් මොර ගසා කී ය. මෙසේ කියා ඔහු සැතපුණේ ය.

(ක්‍රියා 7:59-60)

## ශුද්ධ වූ දෙවන ජුවාම් පාවුලු මුනිතුමා

තමන් ව මරණයට පත් කරන්නට උත්සාහ කළ සාහසිකයාට ශු. දෙවන ජුවාම් පාවුලු මුනිතුමා ද සමාව දුන්නේ ය. එතුමන් මරා දමන්නට උත්සාහ කළේ, අලි අග්කා නමැති අයෙකි. අවසානයේ ඔහුගේ උත්සාහය අසාර්ථක වී උන්වහන්සේගේ ජීවිතය බේරුණි. එහෙත් අලි අග්කා සිරභාරයට නියම විය. අලි අග්කා බැලීමට සිර ගෙදරට ගිය ශුද්ධෝත්තම පියතුමා ඔහු ව ආදරයෙන් වැළඳ ගත්තේ ය. ඔහුට එතුමා මුළු හදවතින් ම සමාව දුන්නේ ය.



17.4 රූපය - ශු. දෙවන ජුවාම් පාවුලු මුනිතුමා අලි අග්කාට සමාව දෙයි

ජේසුස් වහන්සේ පෙන්වා දුන් මග යමින් සතුරාට ප්‍රේම කළ යුතු ආකාරය ශු. දෙවන ජුවාම් පාවුලු මුනිතුමා මුළු ලොවට ම පෙන්වා දුන්නේ ය. ඔබත් එලෙස ඔබේ සතුරන්ට සමාව දීමට අදිටන් කරගන්න. ඔබට සතුරුකම් කරන අයට සමාව දීම තුළින් ඔබත් දෙවි පියාණන්ට ප්‍රසන්න දරුවකු වීමට උත්සාහ කරන්න.

ජේසුස් වහන්සේ සතුරන්ට සමාව ලබා දීම තුළින් දුන් ආදර්ශය නිතර සිහිපත් කරන්න. සමාව දීම තුළ ප්‍රේමයෙන් පිරුණු අළුත් ජීවිතයකට පා තබන ඔබ සැබැවින් ම වාසනාවන්ත දරුවකු වනු ඇත.

## ක්‍රියාකාරකම

(1) නිවැරදි වචන තෝරා හිස්තැන් පුරවන්න.

(සතුරන්ට, හිරු එළිය, යාච්ඤා, දෙන්න, එකට එක, කමා වුව)

1. එදිරිකාරයාට විරුද්ධ ව ................ නොකරන්න.
2. ඔබෙන් ඉල්ලන්නාට .................
3. ඔබට පීඩා කරන්නන් උදෙසා ........... කරන්න.
4. දෙවියන් වහන්සේ දුදනන් හට හා සුදනන් හට තම ........... උදාකරවන සේක.
5. ඔබේ ..................... ප්‍රේම කරන්න.
6. පියාණෙනි ඔවුන්ට ...................... මැනව.

(2) ඔබට සතුරුකම් කරන අයට දෙව් පියාණන් වහන්සේගේ ආශිර්වාදය ලැබෙන ලෙසත් එවැනි අයට තම වැරදි මාර්ගවලින් ඉවත් වීමට අවශ්‍ය ශුද්ධාත්ම බලය ලැබෙන ලෙසත් ඉල්ලා කෙටි යැදුමක් ලියන්න.



**ජීවිතයට බිඳක්**

*ඔබේ මිතුරන්ටත් සතුරන්ටත් දෙව් පියාණන්ගේ ආශිර්වාදය පතා දිනපතා ඔබේ යැදුම්වල දී යාච්ඤා කරන්න.*

# 18 ශුද්ධ වූ සභාවේ ශික්ෂාපද

ලොව සැම රටක ම ජීවත් වන කතෝලිකයෝ ශුද්ධ වූ සභාවේ සාමාජිකයෝ වෙති. ඔවුන් දේව වචනය තුළ නිවැරදි මගකට යොමු කිරීම ශුද්ධ වූ සභා නායකයන්ගේ වගකීමකි. දස පනතට අමතර ව ඔවුන් ව නිවැරදි මගට යොමු කිරීම සඳහා ශු. සභාව විසින් සකස් කළ නීති පද්ධතිය, ශුද්ධ වූ සභාවේ ශික්ෂාපද (පනත්) ලෙස සලකනු ලබයි. එම ශික්ෂාපද ගණන පහක් වන අතර ඒවා මෙසේ ය.

1. ඉරුදිනත් ණය මංගල්‍යය දිනත් මුළු පූජා යාගයට සහභාගි වීම
2. වසරකට වරක්වත් පාපෝච්චාරණය කිරීම
3. පාස්කු සමය තුළ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබීම
4. නියම වූ දිනයන්හි ගොඩමස් වැළකීම සහ එක්වරු ශීලය රැකීම
5. සභාවේ නඩත්තුව සඳහා ආධාර කිරීම.

## 1. ඉරු දිනත් ණය මංගල්‍යය දිනත් මුළු පූජා යාගයට සහභාගී වීම

දේව ජනතාවක් වශයෙන් දෙවියන් වහන්සේට අප පුදන යාගය දිව්‍ය පූජාව යි. ඉරුදිනයන්හි සහ ණය මංගල්‍ය දිනයන්හි දිව්‍ය පූජාවට සහභාගි වීම දේව ජනතාවගේ ණය යුක්තියකි. මෙම ණය යුක්තිය සම්පූර්ණ වීමට නම් මුළු දිව්‍ය පූජාවට සහභාගි වීම අත්‍යවශ්‍ය වන්නේ ය. එනම්, ඇතුළුවීමේ ගිතිකාවේ සිට දිව්‍ය පූජාව අවසානයේ ගැයෙන ගීතිකාව දක්වා ම දිව්‍ය පූජාවට ක්‍රියාකාරී ව සහභාගි විය යුතු වෙයි.

දිව්‍ය පූජාවට ක්‍රියාකාරී ව සහභාගි වීමේ දී ඊට බාධා වන කතාබහෙන් වැළකී තමන්ගේ මුළු හදවතින් ම සහභාගිවීම අත්‍යවශ්‍ය යි. ඒ සඳහා යාච්ඤාවලට සහභාගි විය යුතු ය. ගීතිකා ගායනා කළ යුතු ය. යාච්ඤාවලට පිළිතුරු දිය යුතු ය.

රෝගී ව සිටීම, ළඟපාත ස්ථානයක දිව්‍ය පූජාවක් නොතිබීම, අත්‍යවශ්‍ය සේවාවන්හි යෙදී සිටීම ආදි විශේෂ කරුණක දී හැර වයස අවුරුදු හතට වැඩි සෑම අයෙක් ම මෙම ශික්ෂාපද අනුව ක්‍රියා කළ යුතු වේ. සාධාරණ හේතුවක් මත ඉරුදින දිව්‍ය පූජාවට සහභාගි වීමට නොහැකි විට සුදුසු අයුරින් යාච්ඤා මෙහෙයකට සහභාගි වීම හෝ පෞද්ගලික ව යාච්ඤාවේ යෙදෙන්නට හෝ උත්සාහ කළ යුතු ය.

ඉරුදින දිව්‍ය පූජාවට සහභාගි වීම සභාවේ නියමයක් ලෙස නොව දෙවි පියාණන් වහන්සේට තමන් දක්වන ගෞරවය හා භක්තිය ද කරණ කොට ගෙන කළ යුතු ය.

## 2. වසරකට වරක්වත් පාපෝච්චාරණය කිරීම

අප ජීවත්වන සමාජයේ දී බොහෝ පාපයන් අප අතින් සිදු වෙයි. සමහර විට අප දැනුවත් ව පාපී ක්‍රියාවන්ට පෙළඹෙයි. එසේ ම අප නොදැනුවත් ව සිදු වන පාපයන් ද තිබිය හැකි ය. අපගේ අතින් සිදුවන වැරදි, අඩුපාඩු හා පාපයන් නිසා අපේ ම සහෝදර සහෝදරියන් අසල්වැසියන් හා අප ඇසුරු කරන අය අතර සුහදතාව පළුදු විය හැකි ය. අප අතර තිබිය යුතු සහෝදර සබඳතාව නැති වී යා හැකි ය.

තමන් අතින් මරණීය පාපයක් එනම් බරපතළ වරදක් සිදු වූ විට එම පාපයට පාපෝච්චාරණය තුළින් සමාව ලබා ගත යුතු අතර එවිට වසරකට එක් වරකට වඩා පාපෝච්චාරණය කිරීමට සිදු වේ.

මරණීය පාපයක් නැතත් අවම වශයෙන් වසරකට වරක්වත් අප විසින් පාපෝච්චාරණයක් කරගැනීම අවශ්‍යය ය.

## 3. පාස්කු සමය තුළ දිව්‍ය සත්ප්‍රසාද ලැබීම

පුරාණ කාලයේ මිනිසුන් තුළ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබීමට තිබූ බිය නිසා මෙම ශික්ෂාපදය තිබුණත් අද අපට ශුද්ධ වූ සභා මාතාව උගන්වන්නේ සෑම දිව්‍ය යාගයක දී ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබීමට ය. එසේ ම අප සහභාගි වන දිව්‍ය පූජා යාගය සම්පූර්ණ වීමට නම් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබිය යුතු ය.

## 4. නියම වූ දිනයන්හි ගොඩමස් වැළකීම සහ එක්වරු ශීලය රැකීම

★ **ගොඩමස් වැළකීම**

ගොඩමස් වැළකීම යන්නෙන් අදහස් කරන්නේ නියමකොට ඇති දිනයන්හි දී ගොඩබිම ජීවත් වන සතුන්ගේ මස් අනුභවයෙන් වැළකී සිටීම ය. එම දින වන්නේ;

- අළු බදාදා
- මහ සිකුරාදා සහ
- අවුරුද්දේ සැම සිකුරාදා ම ය.

★ **එක්වරු ශීලය**

එක්වරු ශීලය යනු දිනකට එක් සම්පූර්ණ ආහාර වේලක් පමණක් අනුභව කොට, ඉතිරි දෙවේල ආහාර නොගෙන සිටීම හෝ සුළු ආහාරයක් ගැනීමයි. එක්වරු ශීලයේ පරමාර්ථ වන්නේ;

- තමන්ගේ පාපවලට වන්දි ගෙවීම
- ආත්ම දමනය පුහුණු කිරීම
- නිරාහාරව දින හතළිහක් උපවාස කළ ක්‍රිස්තුන් වහන්සේ අනුග මනය කිරීම.

එක්වරු ශීලයේ දී තමන් නොගෙන ඉතිරි කරන ආහාර වේල නැති බැරි කුසගින්නේ සිටින අයකුට දන්දෙන ලෙස ශු. සභා මාතාව අපට උගන්වන්නී ය. එබැවින් දන්දීම එක්වරු ශීලය රැකීමේ ප්‍රධාන පරමාර්ථයකි.

වයස අවුරුදු 18-60 අතර අයට මෙම ශික්ෂාපදය බලපැවැත්වෙන අතර රෝගී හා වයස්ගත වූවන් මෙයින් නිදහස් කරනු ලැබේ. එහෙත් අන් අයට ද ස්වෙච්ඡාවෙන් එක්වරු ශීලය රැකිය හැකි ය.

අළු බදාදා හා මහ සිකුරාදා දින එක්වරු ශීලය රැකීමට නියම වන නමුත් වෙනත් දිනවල ද ස්වේච්ඡාවෙන් එක්වරු ශීලය රැකීමට පුළුවන.

## 5. සභාවේ නඩත්තුව සඳහා ආධාර කිරීම

ඕනෑ ම ආයතනයක හෝ සංවිධානයක පැවැත්ම සඳහා එහි සාමාජිකයන් තමන්ට හැකි ආකාරයෙන් පරිත්‍යාග කිරීම සාමාන්‍ය සිරිතකි. එලෙස ම ශුද්ධ වූ සභාවේ පැවැත්ම සඳහා එහි සාමාජිකයන් තමන්ට හැකි ආකාරයට පරිත්‍යාග කිරීමට මෙම ශික්ෂාපදයෙන් නියම කෙරේ. දේවස්ථාන නඩත්තුව, සභා ශ්‍රේෂ්ඨයන්ගේ නඩත්තුව හා මිසම් තුළ පවත්නා විවිධ දයා සේවා කටයුතු සඳහා මෙම පරිත්‍යාග යොදවයි.

**ක්‍රියාකාරකම**

1. ශුද්ධ වූ සභාවේ ශික්ෂාපද **පහ** නම් කරන්න.
2. දිව්‍ය පූජාවට ක්‍රියාශීලී ව සහභාගිවීම සඳහා ඔබට කළ හැකි කාර්ය **තුනක්** ලියන්න.
3. ගොඩමස් වැළකීම හා එක්වරු ශීලය රැකීමට නියම වී තිබෙන දවස් වෙන වෙන ම ලියන්න.
4. එක්වරු ශීලය යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද?



***ජීවිතයට බිඳක්***

- ★ *ඉරුදිනත් ණය මංගල්‍ය දිනත් මුළු පූජාවට සහභාගි වෙමු*
- ★ *අවම වශයෙන් වසරකට වරක්වත් පාපෝච්චාරණය කරමු*
- ★ *නියමිත දිනයන්හි දී එක්වරු ශීලය රකිමු*

# 19 යාච්ඤාව

(දැඩි සත්කාර ඒකකයේ ප්‍රතිකාර ලබන ඩේමියන්ගේ මව්පියන්ට ප්‍රධාන වෛද්‍යවරයා හමුවන්නට කැඳවීමක් ලැබුණි.)

**පියා** : ඔබතුමා අපට එන්න කිව්වේ?

**වෛද්‍යවරයා** : එන්න, වාඩිවෙන්න. මම ඔයාලට එන්න කිව්වේ, ඩේමියන්ගේ තත්ත්වය එතරම් යහපත් නැහැ කියන්න. වෛද්‍යවරු හැටියට අපි පුළුවන් උපරිමය කළා.

**මව** : අනේ ..... දෙවියනි, අපේ එක ම පුතා.

**වෛද්‍යවරයා** : කළබල වෙන්න එපා මට තේරෙනවා ඔබේ තත්ත්වය. ඒ වගේ ම තව පැය විසි හතරක් ඇතුළත ඩේමියන් යහපත් ප්‍රතිචාරයක් දක්වුවොත්, අපිට පුළුවන් පුතා ව ජීවත් කරවන්න. අන්න ඒ ගැන කියන්නයි මා ඔබලාට කතා කළේ.

**පියා** : අපි යාච්ඤා කරමු. මට විශ්වාසයි, දෙවියන් වහන්සේ අපට දුකක් දෙන්නේ නෑ කියලා. (වෛද්‍යවරයාගෙන් සමුගත් ඔවුහු දිගින් දිගට ම යාච්ඤා කළහ. පැය කිහිපයකට පසු වෛද්‍යවරයා සිනාමුසු මුහුණින් ඔවුන් වෙත ආවේ ය.)

**වෛද්‍යවරයා** : සතුටුදායක ආරංචියක්. ඒ වගේ ම හාස්කමක්. පුතා ව ජීවත් කරවන්න අපට පුළුවන්.

**පියා** : දෙවි පියාට ස්තුති වේවා. මම ....... විශ්වාස කළා අපේ ඉල්ලීමට ඔවුන් වහන්සේ කන් දෙනවා කියලා. (මව වෙත හැරී) අපි පුතා ව ගෙදර ගෙනියන කොට පල්ලියටත් ගොඩවෙලා යමු.

**මව** : ඔව්....... ඔව්........ මාත් හිතුවා. අපි එහෙම කරමු. අපි පුතත් එකතු කරගෙන වෙනදාට වඩා යාච්ඤා කරමු.

කිතුනු අපගේ ජීවිතයට යාච්ඤාව ඉතා වැදගත් ය. ගසට පොත්ත බද්ධ ව තිබෙන්නාක් මෙන් යාච්ඤාව ද කිතුනු අපගේ ජීවිතයේ කොටසක් මෙන් බද්ධ විය යුතු ය.

**යාච්ඤාව යනු**

දෙවියන් වහන්සේට වන්දනා, ස්තුති, ප්‍රශංසා කරන්නටත් අපට අවශ්‍ය දේ ඉල්ලා ගන්නටත් ඔවුන් වහන්සේ වෙත සිත යොමු කිරීමකි.

(මහෝපදේශය 283)

"යාච්ඤාව" දෙවියන් වහන්සේ සමග ප්‍රේමයෙන් බැඳී සුහද ව කරන කතා බහකි. අප යාච්ඤා කළ යුත්තේ, භක්තියෙන් හා අවධානයෙනි. එසේ නොමැති ව වචන කට පාඩමෙන් කීම ප්‍රමාණවත් නැත. එහෙයින් අපගේ හදවතේ නැගෙන සිතුවිලි වචන බවට පරිවර්තනය කර දෙවි පියාණන් වහන්සේ හමුවේ තැබීම වඩාත් ඵලදායි වේ.

යාච්ඤා වර්ග හතරකි.

1. ප්‍රශංසාව
2. තුති පිදීම
3. කමාව අයැදීම
4. වරප්‍රසාද ඉල්ලා ගැනීම

(මහෝපදේශය 285)

කිතුනු අප දෙවි පියාණන් වහන්සේ හා මනා සබඳතාවක් පවත්වා ගෙන යාමට සැම කාර්යයක දී ම යාච්ඤා කිරීමට යොමුවිය යුතු ය. එහි දී දෙවි පියාණන් වහන්සේට ප්‍රශංසා කිරීම, තුති පිදීම, අපගේ වැරදිවලට සමාව අයැදීම මෙන් ම අපට අවශ්‍ය වරප්‍රසාද ඉල්ලා සිටීම සිදු වේ.

අපට අවශ්‍ය දේ පමණක් ලබා දෙන දෙවි පියාණන් වහන්සේ හමුවේ නොකඩවා අධෛර්යයට පත් නොවී යාච්ඤා කළ යුතු බව ක්‍රිස්තුන් වහන්සේ උපමා මගින් මෙසේ අපට පෙන්වා දුන් සේක.

- ශුද්ධ බයිබලය පෙරළා පහත උපමා කියවන්න.

| මැදියම් රැයේ පැමිණි මිත්‍රයා පිළිබඳ උපමාව (ලූක් 11:5-8) | අධර්මිෂ්ඨ විනිශ්චයකාරයා පිළිබඳ උපමාව (ලූක් 18:1-8) |
|---|---|



19.1 රූපය - මැදියම් රැයේ පැමිණි මිත්‍රයා



19.2 රූපය - අධර්මිෂ්ඨ විනිශ්චයකාරයා

## පරිසිවරයා හා අයකැමියා පිළිබඳ උපමාව

"තමා සිල්වත් යයි සිතමින්, අන් හැම දෙන හෙළා දුටු ඇතැම් අයට උන් වහන්සේ මේ උපමාව ද වදාළ සේක. මිනිසුන් දෙදෙනෙක් යාච්ඤාව පිණිස දේව මාලිගාවට නැගී ගියහ; එක් කෙනෙක් පරිසිවරයෙකි; අනික් තැනැත්තා අයකැමියෙකි. පරිසිවරයා නැගී සිට පසෙකට වී තනියම යාච්ඤා කරමින්, "දෙවියන් වහන්ස මා අන් මිනිසුන් මෙන් වස්තු ලෝභී, වංචනික, කාමමිථ්‍යාචාරී තැනැත්තකු නොවන බැවින් ඔබට තුති පුදමි. මම මේ අයකැමියා වැන්නෙක් ද නොවෙමි. සතියකට දෙවරක් උපවාස කරමි; මා උපයන සියල්ලෙන් දහයෙන් කොටසක් දෙමි"යි කී ය. එහෙත් අයකැමියා ඈතින් සිට ස්වර්ගය දෙස ඇස් ඔසවා බලන්නට වත් නොසිතා, තමාගේ ළයට ගසා ගනිමින්, "දෙවියන් වහන්ස, පව්කාර වූ මා හට කරුණා කළ මැනවැ"යි කී ය. මෙය මම ඔබට කියමි; දමිටු යයි ගණන් ගනු ලැබ ගෙදර ගියේ පරිසිවරයා නොව, මේ අයකැමියා ය. තමා ම උසස් කරගන්නා හැම දෙන ම පහත් කරනු ලබති; තමා ම පහත් කරගන්නා උසස් කරනු ලබන්නේ ය."

(ලූක් 18:9-14)

අප යාච්ඤා කරන විට;

- දෙවියන් වහන්සේ අප හඳුනන නිසා අප ගැන වර්ණනා කිරීම අනවශ්‍ය ය
- අන් අය හා අප සංසන්දනය නොකළ යුතු ය
- අන් අය හෙළා නොදකිය යුතු ය
- අපගේ දුර්වලකම්, පාපයන් පිළිගත යුතු ය
- අප නිහතමානී ව යාච්ඤා කළ යුතු ය

යන ආදර්ශ "පරිසිවරයා හා අයකැමියා" පිළිබඳ උපමාව පෙන්වා දෙයි.

කිතුනු අප යාච්ඤා කිරීමේ දී විවිධ ඉරියව් භාවිත කරයි. දෑත් ඉහළට එසවීම දෑත් එක්කර ළය ඉදිරියෙන් තබා ගැනීම, දොහොත් මුදුන් දී නමස්කාර කිරීම, දණ ගසා යාච්ඤා කිරීම මීට අයත් ය. මෙම ඉරියව් තුළින් දෙව් පියාණන් වහන්සේට අප හදෙහි ඇති ගෞරවය, අපගේ නිහතමානිකම පෙන්නුම් කරයි. අපගේ ප්‍රශංසාව ඔවුන් වහන්සේට හිමි වන බව ද පෙන්වනු ලබයි.

එහෙයින් අප යාච්ඤාවේ දී නිවැරදි ඉරියව් භාවිත කරමින් දෙවියන් වහන්සේට හිමි ප්‍රශංසාව නිරතුරු ව පුද කර සිටිමු.

**ක්‍රියාකාරකම**

(1) "යාච්ඤාව" යනු කුමක් ද'යි අර්ථ දක්වන්න.

(2) යාච්ඤා වර්ග **හතර** නම් කරන්න.

(3) පහත සඳහන් උපමා කතාවලින් ගත හැකි ආදර්ශ දෙක බැගින් ලියන්න.

- මැදියම් රැයේ පැමිණි මිත්‍රයා
- අධර්මිෂ්ඨ විනිශ්චයකාරයා
- පරිසිවරයා හා අයකැමියා



**ජීවිතයට බිඳක්**

*"ඉල්ලන්න, ඔබට දෙනු ලැබේ,සොයන්න ඔබට සම්බ වේ"*

*සම්ඳු වදන සිතට ගෙන දිනපතා යාච්ඤා කරමු.*

# 20 යාච්ඤා කළ යුතු අවස්ථා



20.1 රූපය - ජේසුස් වහන්සේ ඔලීව කන්ද මත යාච්ඤා කිරීම

අන්තිම රාත්‍රි භෝජනයෙන් පසු ජේසුස් වහන්සේ තම අපෝස්තුලුවරුන් සමග සිරිත් පරිදි ඔලීව කන්දට වැඩිය සේක. උදාවන ඊළඟ මොහොතේ දී තමන් හා දුක සැප බෙදාගත් ජුදස් විසින් නායක පූජකයන් අතට තමන් පාවා දෙනු ලබන බවත් ඉන් අනතුරුව විඳින්නට සිදුවන වේදනා සියල්ලත් ඔවුන් වහන්සේ දැන සිටි සේක. දැඩි සිත් වේදනාවෙන් කැළඹීමට පත් වූ ජේසුස් වහන්සේ දණින් වැටී යාච්ඤා කරමින් පියාණන් වහන්සේට මෙසේ පැවසූ සේක.

"පියාණෙනි, ඔබ කැමති සේක් නම්, මේ කුසලාන මාගෙන් පහ කළ මැනව. එහෙත්, මාගේ කැමැත්ත නොව ඔබේ කැමැත්ත වේ වා."

(ලූක් 22:42)

යාච්ඤාව ජේසුස් වහන්සේගේ ජීවිතයේ අනිවාර්ය අංගයක් විය. දුක වේදනාව, තනිකම දැනුන විට මෙන් ම පිළිතුරු සොයා ගත නොහැකි ප්‍රශ්න හමුවේ ද ජේසුස් වහන්සේ පිළිතුරු සෙව්වේ යාච්ඤාව තුළිනි. එමගින් පියාණන් වහන්සේ හා පුත්‍රයාණන් වහන්සේ අතර දැඩි සබඳතාවක් ගොඩනැගුණි. පියාණන් වහන්සේ තමන් වෙත පවරනු ලැබූ කාර්යයන් පවා ඒ අයුරින් ම

ඉටු කිරීමට ජේසුස් වහන්සේට හැකි වූයේ ද නිරන්තර යාච්ඤාව හේතු කොට ගෙන ය.

## ජේසුස් වහන්සේ යාච්ඤා කළ අවස්ථා කිහිපයක්

**බෞතීස්මය ලැබීමේ දී**

ජේසුස් වහන්සේත් බෞතීස්ම-ස්නාපනය ලබා **යාච්ඤා කරමින් සිටිය දී**

(ලූක් 3:21)

**සුවය දානය කිරීමට පෙර**

උන් වහන්සේ හුදකලා පෙදෙසකට ගොස් **යාච්ඤා කළ සේක.**

(ලූක් 5:16)

**අපෝස්තුලුවරුන් තෝරා ගැනීමට පෙර**

උන් වහන්සේ **යාච්ඤා කරන පිණිස** කන්දකට නැඟී දෙවියන් වහන්සේට **යාච්ඤා කරමින්** මුළු රැය ගෙවූ සේක.

(ලූක් 6:12)

**පේදුරු තුමාගේ මහා ප්‍රකාශයට පෙර**

උන් වහන්සේ තනියම **යාච්ඤා කරද්දී** ශ්‍රාවකයෝ උන් වහන්සේ සමග සිටියහ. එවිට උන් වහන්සේ, "මහජනයා මා කවරෙකැයි කියද්ද'යි ඔවුන්ගෙන් ඇසූ සේක.

(ලූක් 9:18)

**අන්‍යරූප විලාශවීමට පෙර**

උන් වහන්සේ පේදුරු ද ජොහන් ද ජාකොබ් ද කැඳවාගෙන **යාච්ඤා කරන පිණිස** කන්දකට නැගුණු සේක.

(ලූක් 9:28)

## ස්වාමිවාක් ආරාධනාව ඉගැන්වීමට පෙර

උන් වහන්සේ එක් තැනක **යාච්ඤා කරමින්** සිටි සේක. එය නිම වූ පසු උන් වහන්සේගේ ශ්‍රාවකයන්ගෙන් එක් තැනැත්තෙක් කතා කොට, "ස්වාමිනි, .......... අපටත් **යාච්ඤා කරන්නට ඉගැන්නුව** මැනවැ 'යි කිවේ ය.

(ලූක්11:1)

## කුරුස ගසේ දී ජේසුස් වහන්සේ යාච්ඤා කරමින් මෙසේ වදාළ සේක

පියාණෙනි, ඔවුන්ට කමා වුව මැනව; ඔවුන් කරන දෙය ඔව්හු නොදනිති.

(ලූක් 23:34)

පියාණෙනි, ඔබ හස්තයට මාගේ ආත්මය භාර දෙමි.

(ලූක් 23:46)

යාච්ඤා ජීවිතයේ වටිනාකම පිළිබඳ ව ජේසුස් වහන්සේ දුන් අනගි ආදර්ශය කිතුනුවන් වන අප ද ක්‍රියාවට නැංවිය යුතු ය. ඒ තුළින් දේව කැමැත්ත හඳුනා ගැනීමට අපට පුළුවන. එමෙන් ම අපගේ අවශ්‍යතා දේව ආශිර්වාදය සමඟින් ඉටුකර ගැනීමට ද හැකි වේ.

මිනිස් අපගේ ජීවිතය රඳා පවතින්නේ ආශ්වාස, ප්‍රාශ්වාස ක්‍රියාවලිය මත ය. යම් අවස්ථාවක එම ක්‍රියාව කිරීමට අපට අපහසු වුවහොත් ජීවිතයෙන් සමුගැනීමට ද අපට සිදු වේ. එලෙස ම කිතුනු අපට යාච්ඤාවේ ජීවිතය අතිශයින් ම අවශ්‍ය ය. අපි යාච්ඤාවෙන් බැහැර වන විට පියාණන් වහන්සේගෙන් ද ඈත් වෙමු. එවිට අපගේ ආධ්‍යාත්මික ජීවිතය දුර්වල වී අප සතු කිතුනු වටිනාකම් ද පහ ව යන්නේ ය. එහෙයින් "යාච්ඤාව" අපගේ ජීවිතයේ අනිවාර්ය අංගයක් කරගනිමින් දිනපතා ම යාච්ඤා කළ යුතු ය.

දිනපතා යාච්ඤාවේ දී;

1. අපගේ අවශ්‍යතා මත අප විසින් නිර්මාණය කළ යාච්ඤා ද
2. විවිධ අවස්ථාවන්හි යැදීමට ශු. සභාව විසින් හඳුන්වා දී ඇති යාච්ඤා ද භාවිත කළ හැකි ය.

## නිතර භාවිත වන (පොදු) යැදුම් කිහිපයක්

★ **උදෑසන අවදි වූ විට කීමට;**

**උදය ආරාධනාව**

සියලු දේ මවා පාලනය කරන දෙවියනි, ඔබගේ කරුණා අදහසින් මා ලැබූ උපකාර රාශිය උදෙසා ද විශේෂයෙන් පසුගිය රාත්‍රියේ මා නසින්නට ඉඩ නොදී ආරක්ෂා කළ නිසා ද අනේක වරක් ඔබට ස්තුති කරමි. ඔබගේ අණ පනත් ශේෂයක්වත් නොවරදවා මේ දවස ගත කරන ලෙස පොරොන්දු වී මාගේ කල්පනා, වචන හා ක්‍රියා සියල්ල ම ඔබට ස්තෝත්‍ර කොට පුදමි. එසේ හෙයින් මාගේ ගතට හා ප්‍රාණයට යම් විපතක් නොයෙදී ඔබගේ කැමැත්ත පරිදි ධර්මයෙන් පැවත මා මෝක්ෂ සුගතියට සුදුස්සකු වන පිණිස කරුණාකර වදාළ මැනව. ආමෙන්.

**මෙම යාච්ඤාව තුළින්**

★ පෙර දින රාත්‍රියේ සියලු නපුරෙන් තම ජීවිතය සුරැකීම පිළිබඳ ව දෙවි පියාණන් වහන්සේට තුති පුදනු ලැබේ.

★ උද වූ අලුත් දිනයේ දී දේව පනත් අනුව ජීවත් වෙමින්, සිතින් වචනයෙන් හා ක්‍රියාවෙන් යහපත් දේ පමණක් සිදු කරන බවට දෙවි පියාණන් වහන්සේට පොරොන්දු වේ.

★ නව දිනය ආරම්භ වූ මොහොතේ පටන් අවසන් වන මොහොත දක්වා තම ජීවිතය ආරක්ෂා කර දෙන මෙන් දෙවි පියාණන්ගෙන් ඉල්ලා සිටිනු ඇත.

★ **පාසලට හෝ ගමනක් යාමට පෙර කීමට;**

**රැකවල් දේව දූතයාට යාච්ඤාව**



20.2 රූපය - රැකවල් දේව දූතයා අපව සුරකියි

මාගේ රැකවල් දේව දූතයෙනි, ඔබ බාරේ ඉන්නා වූ මට, අද දින (රෑ) ඔබගේ පරම දයාබරකමින් ඥාන එළිය දී මා ආරක්ෂා කර නඩත්තු කර ආණ්ඩු කරනවා සොඳේ. ආමෙන්.

**මෙම යාච්ඤාව තුළින්**

★ රැකවල් දේව දූතයාගේ ආරක්ෂාවට බාර වූ මොහොතේ පටන් සියලු නපුරෙන් මෙන් ම අනතුරුවලින් තම ජීවිතය රැකදෙන ලෙස ඉල්ලා සිටියි.

★ **ආහාර අනුභවයට පෙර හා පසු ව කීමට;**

**භෝජන ආශිර්වාදය**

ස්වාමීනි, මටත් මේ භෝජනයටත් ආශිර්වාද ලැබේවා. මෙවන් භෝජන මා ආක්‍රමයෙන් අනුභව නොකොට එයින් ඔබට ස්තෝත්‍ර වෙන පිණිස වරම් සලස්වනවා සොඳේ. (ස්වර්ග යේ වැඩසිටින යාච්ඤාව උච්චාරණය කරන්න)



20.3 රූපය - භෝජන ආශිර්වාදය කියයි

## භෝජන ස්තෝත්‍රය

ස්වාමීනි, ඔබගේ උදාර හස්තයෙන් ලැබුණ මේ උපස්ථානය හා නොයෙක් උපකාර රාශියත් උදෙසා, ඔබට ස්තෝත්‍ර කියමි. අපට ආධාර වූවන්ට ඔබ ආධාර ව සියලු ජීවතුන්ට දිවි රැක්ම දී මළවුන්ටත් සැනසීම දුන මැනව.
("නමෝ මරිය" උච්චාරණය කරන්න)

**මෙම යාච්ඤා දෙක තුළින්**

★ දෙවි පියාණන් වහන්සේගේ කරුණාව මත ලැබුණා වූ ආහාරය වෙනුවෙන් ඔවුන් වහන්සේට තුති පුදයි.
★ භෝජනය සඳහා සැකසුණු ආහාරයත් එය ආහාරයට ගන්නා වූ තමන් වත් ආශිර්වාද කරන ලෙස දෙවි පියාණන් වහන්සේගෙන් අයැද සිටියි.
★ ආහාර වේල සඳහා වෙහෙසුන අයගේ ජීවිත ආශිර්වාද කර සුරකින ලෙසත්
★ ජීවතුන් ආරක්ෂා කරන ලෙසත්
★ මළවුන්ට සදා සැනසුම ලබා දෙන ලෙසත් දෙවි පියාණන් ගෙන් අයැද සිටියි.

### ★ විශේෂ කාර්යයක් කිරීමට හෝ පාඩම් කිරීමට පෙර;

**ස්ප්‍රීතු සාන්තු වහන්සේට යාච්ඤාව**



20.4 රූපය - පාඩම් කිරීමට පෙර යාච්ඤා කිරීම

ප්‍ර. ස්ප්‍රීතු සාන්තු දෙවියනි, වැඩමකර ඔබගේ විශ්වාසීන්ගේ හෘදයන් පිරෙව්ව මැනව.

උ. ඔබගේ ප්‍රේමයේ ගින්න ඔවුන් තුළ දල්වුව මැනව.

ප්‍ර. ඔබගේ ස්ප්‍රීතුව යැව්ව මැනව. එවිට ඔව්හු මවනු ලබන්නෝ ය.

උ. තව ද ඔබ පෘථිවියේ විශාලකම අලුත් කර වදරන සේක.

**යාච්ඤා කරමහ**

ස්ප්‍රීතු සාන්තු ආලෝකයෙන් විශ්වාසීන්ගේ හෘදයන් පැහැදෙව්වා වූ දෙවියනි එම ස්ප්‍රීතුවෙන් සියල්ල ගැන හරි තේරුම් ගැනීම ලබන්නටත් එම ශුද්ධ වූ සැනසිල්ලෙන් නිතර ප්‍රීති සන්තෝෂ වෙන්නටත් අපට සලස්වා වදාළ මැනව. මේ කී දේ අපගේ ස්වාමී වූ ජේසුස් ක්‍රිස්තු තුමන් උදෙසා ම ලැබේවා! ආමෙන්.

**මෙම යාච්ඤාව තුළින්**

★ ශුද්ධාත්මයාණන් වහන්සේ පිළිබඳ විශ්වාසයෙන් පසුවන්නන් ඔවුන් වහන්සේගෙන් පූර්ණ කරන ලෙස යාච්ඤා කරයි.
★ නිවැරදි ලෙස සියල්ල තේරුම් ගැනීමට ශක්තිය අයදියි.
★ සුදතුම් වරමින් අප ව පෝෂණය කර ප්‍රීතිමත් දිවියකට උරුමකම් කියන්නන් බවට අප ව පත් කරනා ලෙස අයැද සිටියි.

★ **රාත්‍රී නිදා ගැනීමට පෙර;**

**රාත්‍රි ආරාධනාව**



20.5 රූපය - රාත්‍රි නින්දට පෙර යාච්ඤා කිරීම

මනුෂ්‍යයින් නිදහස් කොට ගැලෙව්වා වූ ජේසුස් ස්වාමි දරුවෙනි, අද දවසේ මා විසින් කළ සියලු වැරදි ක්ෂමා කරවා මේ රාත්‍රියේ සදි මරණයෙන් මා නොනැසී නපුරු ස්වප්න ආදි වූ යක්ෂ පරීක්ෂාවලට මා අසුනොවී, මාගේ ගතට හා ප්‍රාණයට කිසි අපහසුවක් නැති ව නැගී සිට, ඔබට ස්තෝත්‍ර කියන සැටියට කරුණාකර වදාළ මැනව. ආමෙන්.

**මෙම යාච්ඤාව තුළින්**

★ දවස ආරම්භයේ සිට අවසානය දක්වා තමන් අතින් සිදු වූ වැරදිවලට ජේසුස් වහන්සේගෙන් සමාව අයැද සිටියි.
★ රාත්‍රියේ දී මරණයෙන්, නපුරු සිහින හා යක්ෂ පරීක්ෂාවෙන් ආරක්ෂා කර දෙන මෙන් ජේසුස් වහන්සේගෙන් ඉල්ලා සිටියි.
★ සුවබර නින්දකින් පසු අවදි ව ජේසුස් වහන්සේට ස්තුති කිරිමේ හැකියාව දෙන ලෙස ඉල්ලා සිටියි.

යාච්ඤාවේ දී මෙවන් පොදු යැදුම් භාවිත කරන්නේ නම්, ඒවා නිවැරදි ව කටපාඩම් කර විශ්වාසයෙන් යුතු ව උච්චාරණය කිරීමට අනිවාර්යයෙන් ම යොමු විය යුතු ය.

**ක්‍රියාකාරකම**

1 ජේසුස් වහන්සේ යාච්ඤා කළ අවස්ථා **හතරක්** දක්වන්න.

2 ඔබ දිනපතා යාච්ඤා කරන අවස්ථා **පහක්** දක්වන්න.

3. ඉහත පොදු යැදුම් කට පාඩම් කර ගුරුතුමාට/ගුරුතුමියට පාඩම් දෙන්න.



**ජීවිතයට බිඳක්**

*භෝජන ආශිර්වාදය හා භෝජන ස්තෝත්‍රය නිවසේ අප ආහාර ගන්නා මේසය අසල එල්ලා තබා, අප ව ශාරීරික ව, හා ආත්මික ව පෝෂණය කරන දෙවි පියාණන් වහන්සේට පවුලක් ලෙස තුති පුදමු.*

# 21 ස්වාමිවාක් ආරාධනාව



21. 1 රූපය - ස්වාමිවාක් ආරාධනාව උගන්වන ජේසුස් වහන්සේ

දිනක් ජේසුස් වහන්සේ යාච්ඤා කරමින් සිටි සේක. ඔවුන් වහන්සේ යාච්ඤා කිරීම නිම කළ විට ශ්‍රාවකයෙක් "ස්වාමීනි, ජොහන් තම ගෝලයන්ට ඉගැන්වූ ලෙස, අපටත් යාච්ඤා කරන්නට ඉගැන්නුව මැනවැ" යි කිවේ ය. එම ඉල්ලීමට සවන් දුන් ජේසුස් වහන්සේ ද "ඔබ යාච්ඤා කරන කල මෙසේ කියන්න"යැ'යි පවසමින් ඔවුනට "ස්වාමිවාක් ආරාධනාව" ඉගැන් වූ සේක. අපගේ ස්වාමීන් වන ජේසුස් වහන්සේ විසින් ම ඉගැන්වූ යාච්ඤාව නිසා එම යාච්ඤාව "ස්වාමිවාක් ආරාධනාව" යනුවෙන් හඳුන්වනු ලබයි. මෙම යාච්ඤාව "ස්වර්ගයේ වැඩ සිටින යාච්ඤාව" හා "පරමණ්ඩල යාච්ඤාව" යනුවෙන් ද හැඳින්වේ. එම යාච්ඤාව මෙසේ ය;

ස්වර්ගයේ වැඩ සිටින අපගේ පියාණෙනි, ඔබ වහන්සේගේ ශ්‍රී නාමයට ප්‍රශංසා වේවා! ඔබ වහන්සේගේ රාජ්‍යය පැමිණේවා! ඔබ වහන්සේගේ කැමැත්ත ස්වර්ගයේ මෙන් මොලොවේ ද ඉටු වේවා! අපගේ එදිනෙදා භෝජනය අද අපට දානය කළ මැනව. අපට වරද කරන අයගේ වැරදි අප කමා කරන්නාක් මෙන් අපගේ වැරදි ද කමා කළ මැනව. පාප අවස්ථාවන්ට අසුවීමට අපට ඉඩ නොදී අයහපතින් අප මුදා ගත මැනව.

ස්වාමිවාක් ආරාධනාවට අනුව, යාච්ඤාවක ඇතුළත් විය යුතු ප්‍රධාන ලක්ෂණ කිහිපයකි. ඒවා මෙසේ ය;

| යාච්ඤාවේ ලක්ෂණ | ස්වාමිවාක් ආරාධනාව |
| --- | --- |
| දේව ප්‍රශංසාව | ඔබ වහන්සේගේ ශ්‍රී නාමයට ප්‍රශංසා වේවා! |
| දේව නමස්කාරය | ඔබ වහන්සේගේ රාජ්‍යය පැමිණේවා! ඔබ වහන්සේගේ කැමැත්ත ස්වර්ගයේ මෙන් මෙලොවෙහි ද ඉටු වේවා! |
| ඉල්ලීම | අපගේ එදිනෙදා භෝජනය අද අපට දානය කළ මැනව! |
| සමාව යැදීම | අපට වරද කරන අයගේ වැරදි අප කමා කරන්නාක් මෙන් අපගේ වැරදි ද කමා කළ මැනව! |
| දේව ආරක්ෂාවට නතුවීම | පාප අවස්ථාවන්ට අසුවීමට අපට ඉඩ නොදී අයහපතින් අප මුදා ගත මැනව! |

ස්වාමිවාක් ආරාධනාවේ දී දෙවියන් වහන්සේ අමතනු ලබන්නේ, "මාගේ පියාණනි" ලෙසින් නොව, "අපගේ පියාණනි" යනුවෙනි. "අපගේ පියාණනි" යන ආමන්ත්‍රණය තුළ සාමූහික බවක් දක්නට ලැබේ. එහෙයින් සාමූහික දේව වන්දනා පිළිවෙත්හි මෙම යාච්ඤාව බෙහෙවින් ම උච්චාරණය කරනු ලබයි. දිව්‍ය පූජා යාගය මීට කදිම නිදසුනකි. එසේ වුව ද පෞද්ගලික යාච්ඤාවේ දී ද අප එය භාවිත කරමු.

අප යාච්ඤා කරන කල දෑත් වැඳගෙන ළය මත තබා ගනිමු. එහෙත් ස්වාමිවාක් ආරාධනය උච්චාරණයේ දී එම ඉරියව් භාවිත නොකරයි. එහි දී දෑත් දෙපසට දිගුකර යදින්නට ශුද්ධ වූ සභා මාතාව අපට ඇරයුම් කරයි. එහෙයින් මෙම ඉරියව් නිවැරදි ව පවත්වා ගනිමින් ස්වාමිවාක් ආරාධනාව උච්චාරණය කිරීම අපගේ යුතුකමකි.

ස්වාමිවාක් ආරාධනාවේ ප්‍රශංසාත්මක පැතුම් තුනක් හා ශාරීරික හා ආධ්‍යාත්මික අවශ්‍යතා සම්බන්ධ ඉල්ලීම් හතරක් ඇත.

## 1. ප්‍රශංසාත්මක පැතුම්

### (i) ඔබ වහන්සේගේ ශ්‍රී නාමයට ප්‍රශංසා වේවා!

සියලු දේ මවා වදාළ දෙවියන් වහන්සේගේ ශ්‍රී නාමයට ප්‍රශංසා කරයි.

**(ii) ඔබ වහන්සේගේ රාජ්‍යය පැමිණේවා!**

කිතුනු අපගේ අවසාන බලාපොරොත්තුව දේව රාජ්‍යයට ඇතුළු වීම ය. එම දේව රාජ්‍යය මිහිමත උදා කරවන ලෙස ප්‍රාර්ථනා කරයි.

**(iii) ඔබ වහන්සේගේ කැමැත්ත ස්වර්ගයේ මෙන් මෙලොවෙහි ද ඉටු වේවා!**

පියාණන් වහන්සේගේ අභිමතය ස්වර්ග රාජ්‍යය තුළ පමණක් නොව මිහිමත ද සඵල වේවා! යි ඉල්ලා ප්‍රාර්ථනා කරයි.

## 2. ශාරීරික හා ආධ්‍යාත්මික අවශ්‍යතා සම්බන්ධ ඉල්ලීම්

**(i) අපගේ එදිනෙදා භෝජනය අද අපට දානය කළ මැනව**

ඉශ්‍රායෙල් ජනතාව ඊජිප්තුවේ සිට පොරොන්දු දේශය කරා යන ගමනේ දී මන්නා භෝජනයෙන් පෝෂණය කළා සේ අපගේ දිනපතා ආහාරය ලබා දෙන ලෙස අයදිමු. එපමණක් නොව ආත්මික ආහාර වන දේව වචනයෙන් හා දිව්‍ය සත්ප්‍රසාද භෝජනයෙන් ද අප පෝෂණය කරන ලෙස අයැද සිටිමු.

**(ii) අපට වැරදි කරන අයගේ වැරදි අප කමා කරන්නාක් මෙන්, අපගේ වැරදි ද කමා කළ මැනව**

අන් අයගෙන් අපට සිදුවන වැරදි හා අතපසුවීම්වලට ඔවුනට සමාව දිය යුතු ය. එහි දී අප ඔවුන්ගේ වරදට සමාව දෙන්නේ කෙසේ ද එලෙස ම අපගේ වරදට ද සමාව දෙන ලෙස පියාණන් වහන්සේගෙන් අයැද සිටිමු.

**(iii) පාප අවස්ථාවන්ට අසුවීමට අපට ඉඩනොදී**

දේව පනත්වලට විරුද්ධ ක්‍රියාවන් සඳහා ඉඩ නොදී අප ආරක්ෂා කරන ලෙස අයැද සිටිමු.

**(iv) අයහපතින් අප මුදා ගත මැනව**

සියලු ම ආත්මික හා ශාරීරික උපද්‍රවයන්ගෙන් අප මුදවා ගන්නා ලෙස අයැ ද සිටිමු.

මෙම ප්‍රශංසාත්මක ප්‍රාර්ථනාවෙන් හා ශාරීරික හා ආධ්‍යාත්මික අවශ්‍යතා සම්බන්ධ ඉල්ලීම් තුළින් දෙවි පියාණන් වහන්සේට අප හදවත් තුළ ඇති ප්‍රශංසාව ගෞරවය පුද කරනු ලබයි. එමෙන් ම සත්‍යය, යුක්තිය රජයන දේව රාජ්‍යය මිහිමත සුපතළ වේවා! යි ප්‍රාර්ථනා කරනු ලබයි. එපමණක් නොව නිවැරදි දේ වටහා ගෙන යහමග යාමට අවශ්‍ය ශාරීරික හා ආධ්‍යාත්මික පෝෂණය සහ මග පෙන්වීම පියාණන් වහන්සේගෙන් අයැද සිටියි.

**ජේසුස් වහන්සේ විසින් ම ඉගැන්වූ ස්වාමිවාක් ආරාධනාව**

- නිවැරදි ව කට පාඩම් කර ගැනීමට
- නිවැරදි ඉරියව් සමගින් උච්චාරණය කිරීමට
- කටපාඩමෙන් පමණක් නොව වචනවල අර්ථය පිළිබඳ මනා සිහියෙන් යුතු ව උච්චාරණය කරන්නට
- හඬ නගා හදවතින් ම උච්චාරණය කරන්නට
- දිනපතා අපගේ යාච්ඤාවේ දී උච්චාරණය කරන්නට

කිතුනු අප නිරන්තරයෙන් ම යොමුවීම වැදගත් ය.

**ක්‍රියාකාරකම**

(1). ස්වාමිවාක් ආරාධනාව ඉගැන්වූයේ,

i. කවු ද?

ii. කාහට ද?

(2). පහත දැක්වෙන වගුව ස්වාමිවාක් ආරාධනාව ඇසුරෙන් සම්පූර්ණ කරන්න.

| යාච්ඤාවේ ප්‍රධාන කොටස් | ස්වාමිවාක් ආරාධනාව |
|---|---|
| 1 ප්‍රශංසාව | 1 ........................................ |
| 2 වන්දනාව | 2 ........................................ |
| 3 ඉල්ලීම | 3 ........................................ |
| 4 කමාව අයැදීම | 4 ........................................ |
| 5 දේව ආරක්ෂාව ට නතුවීම | 5 ........................................ |

(3). ස්වාමිවාක් ආරාධනාවෙහි දක්නට ලැබෙන ප්‍රශංසාත්මක පැතුම් **තුන** හා ශාරීරික හා ආධ්‍යාත්මික ඉල්ලීම් **හතර** වෙන වෙන ම දක්වන්න.



***ජීවිතයට බිඳක්***

*ජේසුස් වහන්සේ ම අපට ඉගැන් වූ 'ස්වාමිවාක් ආරාධනාව' කටපාඩම් කර නිවැරදි ඉරියව් සමගින් අර්ථවත් ව උච්චාරණය කරමින් දෙවි පියාණන් වහන්සේ අමතමු.*

# 22 නමෝ මරිය යාච්ඤාව



22.1 රූපය - දොමිනික් ගුස්මාන් පියතුමන්ට දේව මාතාවන් දර්ශනය වීම

## දොමිනික් ගුස්මාන් පියතුමන්ට දේව මාතාවන් දර්ශනය වීම.

13වන ශතවර්ෂයේ මුල් කාලයේ දී දකුණු ප්‍රංශය හා උතුරු ඉතාලියේ කිතුනු විශ්වාසයට එරෙහි ව විවිධ බලවේග ක්‍රියාත්මක විය. උද්ගත වී ඇති මෙම තත්ත්වය හමුවේ ස්පාඤ්ඤ ජාතික ගරු දොමිනික් ගුස්මාන් පියතුමන් බෙහෙවින් කම්පනයට පත්විය. එහෙයින් එතුමන් 'ටූ ලූස්' ආශ්‍රිත ප්‍රදේශයක තෙදිනක් යාච්ඤා ද මර්දන ක්‍රියා ද කරමින් මෙම තත්ත්වය වෙනස් කර දෙන ලෙස දෙවි පියාණන් වහන්සේගෙන් ඉල්ලා සිටි සේක. තෙදිනක යාච්ඤාව අවසානයේ දී දොමිනික් තුමන්ට ජපමාලය අතින් දරාගත් මරිය තුමිය සුරදූතයන් සමඟින් දර්ශනය විය.

**මරිය තුමිය** : දොමිනික්, ලොව ප්‍රතිසංස්කරණයට, ශුද්ධ වූ ත්‍රිත්වය භාවිත කරණ ආයුධය කුමක් ද?

**දොමිනික් පියතුමා** : අහෝ මරිය තුමියනි, ඔබ පුත් ජේසු තුමන්ට ආසන්න ව ගැලවීමේ සැලැස්මේ ඔබ තබා ඇති හෙයින්, මට වඩා ඔබතුමිය එය දන්නෙහි ය.

**මරිය තුමිය** : තද සිත් ඇති ආත්මයන් වෙත ළඟා වී ඔවුන් දිනා ගැනීමට මාගේ ජපමාලයේ භක්තිය පතළ කරන්න.

## පාතිමා නුවර දේව මාතාවන් දර්ශනය වීම



22.2 රූපය - පාතිමා නුවර දේව මාතාවන් දර්ශනය වීම

එක ම පවුලේ සොහොයුරු සොහොයුරියන් වූ ප්‍රැන්සිස් හා ජසින්තාත් ඔවුන්ගේ ඥාති සොහොයුරිය වූ ලුසීත් පාතිමා නුවර ජීවත් වූහ. තම පවුල්වලට අයත් සතුන් රැකබලා ගැනීම ඔවුන් වෙත පැවරුණු කාර්යයකි. 1917 මැයි 13වන ඉරුදින සුපුරුදු පරිදි මෙම දරුවන් තම පවුල්වලට අයත් බැටළුවන්ට තණ කවමින් සිටියෝ ය. එකවර ම විදුලි කෙටීමක් වැනි ආලෝක ධාරාවකින් ඔවුන් සිටි ප්‍රදේශය ආලෝකවත් විය. බියට පත්වුණු දරුවෝ එතැනින් නික්මෙන්නට සූදානම් වෙත් ම ඒ අසල වූ එතරම් උස් නොවූ ඕක් ගසක ආලෝක ධාරාවක් මැද හිඳ තමන් දෙස බලා සිටිනා රූමත් කාන්තාවක් දුටුවෝ ය. ජපමාලය ද අත දරා සිටි එතුමිය "බිය නොවන්න, මම ඔබට අනතුරක් නොකරමි"යි ප්‍රකාශ කළා ය. සිතට දිරිගත් ලූසී "ඔබ ආවේ කොහින් ද"යි ඇසූ ප්‍රශ්නයට "මම ආවේ ස්වර්ගයෙන්" යැයි එතුමිය පිළිතුරු දුන්නා ය. ලෝකවාසි පව්කරුවන්ගේ සිත් හැරීම සඳහා මැදිහත් වන ලෙස දරුවන්ගෙන් ඉල්ලූ එතුමිය ඒ වෙනුවෙන්, "ජපමාලය කියන්න, හරියට කියන්න" යයි පවසමින් නොපෙනී ගියා ය.



22.3 රූපය - ලූර්දු නුවර දේව මාතාවන් දර්ශනය

## ලූර්දු නුවර දේව මාතාවන් දර්ශනය වීම

1858 පෙබරවාරි 11වන දින බර්ණදෙත් නම් දැරිය තම සොහොයුරිය හා අසල්වැසි මිතුරියක සමඟින් දර කැඩීමට ලූර්දු නුවර අසලින් ගලා යන ගංතෙර අබියසට ගියෝ ය. බර්ණදෙත් ගඟෙන් එතෙර වීමට සූදානම් වෙත් ම දැඩි සුළඟක් හමන්නාක් මෙන් හඬකින් අවට ප්‍රදේශ වෙළී ගියේ ය. බියට පත් වූ බර්ණදෙත්

වටපිට බලත්ම දිය පහරින් එතෙර පිහිටි ගුහාවෙහි රන්වන් වළාපටලක් මැදින් සුන්දර කාන්තාවක් මතුවනු දුටුවා ය. බර්ණදෙත් තුමිය තම අත්දැකීම මෙසේ විස්තර කර ඇත. "මා වෙත ඇස් යොමා මඳ සිනා පා ඒ කාන්තාව තමන් වෙත එන ලෙස මට ඉඟි කළා. මා තුළ බිය නැති විය. මා කොහි සිටියාද'යි මට ම අමතක විය. මා ඇස් වැසුවා. ඇස් ඇරියා. ඒත් ඒ ශෝභමාන කාන්තාව මා දෙස බලා සිටියා. සැනෙකින් මා ජපමාලය අතට ගෙන දණ ගැසුවා. ඒ කාන්තාව ද තම බාහුවේ එල්ලෙමින් තිබුණ ජපමාලය සුරතට ගත්තා. මා ජපමාලය කියන විට ඇයගේ ජපමාලය කෙමෙන් කෙමෙන් ලිස්සා ගියා. ඊට පසුව ඕ වලාකුළක් සමඟ ගුහාව තුළට ම ගියා."

මරිය තුමි දර්ශනය වූ මේ සෑම අවස්ථාවක දී ම ජපමාලය උච්චාරණය කරන්නැ'යි ලෝකවාසී ජනතාවගෙන් අයැද සිටියා ය. ජපමාලය උච්චාරණයේ දී "නමෝ මරිය" යාච්ඤාව අප විසින් කියනු ලබයි. "නමෝ මරිය" යාච්ඤාව කොටස් තුනකින් සමන්විත ය.

1) ගාබ්‍රියෙල් දේව දූතයා මරිය තුමියට මංගලම් කීම පදනම් කරගෙන (ලූක් 1:26-38) නමෝ මරිය යාච්ඤාවේ පළමු කොටස නිර්මාණය වී ඇත:

   "නමෝ මරියනි ප්‍රිය ප්‍රසාද පූර්ණවන්තියනි, ස්වාමින් වහන්සේ ඔබ කෙරෙහි" ය.

2) එළසබෙත් තුමියගේ ආචාරය පදනම් කරගෙන (ලූක් 1:42) දෙවන කොටස නිර්මාණය වී ඇත:

   "ස්ත්‍රීන් අතුරෙන් ආශිර්වාද ලද්දී ඔබ වහන්සේ ය. ඔබගේ ශ්‍රී කුසයෙහි ඵලවන් ජේසුස් ආශිර්වාද ලද්දහුම ය."

3) ශුද්ධ වූ සභාව විසින් එක් කළ කොටසින් තෙවන කොටස නිර්මාණය වී ඇත:

   "සාන්ත මරියනි, දේව මෑණියනි, පාපි වූ අප උදෙසා දැනුත් අපේ මරණ වේලෙහිත් යාච්ඤා කළ මැනව. ආමෙන්."

"මම සමිඳාණන් වහන්සේගේ දාසිය වෙමි; ඔබ පැවසූ ලෙස ම මට ඉටු වේවා" යි පැවසූ මරිය තුමිය දේව කැමැත්තට හිස නමා තම ජීවිතය අවසානය දක්වා ම දේව කැමැත්ත ඉටු කළා ය. එබැවින් ශුද්ධ වූ සභාවේ මාතාව ලෙස අභිෂේක ලබන්නට තරම් එතුමිය වාසනාවන්ත වූවා ය. එම නිසා ම;

- මරිය තුමියගේ මංගල්‍යයන් රැසක් ජනවන්දනා (දේව වන්දනා) වසර තුළ සමරනු ලබයි.

නිදසුන් ★ අති පරිශුද්ධ දේව මාතාවන්ගේ මංගල්‍යය (ජනවාරි 01)

★ දේව මාතාවන් පරලොවට වැඩිය මංගල්‍යය (අගෝස්තු 15)

★ දේව මාතාවන් ජම්ම දෝෂයෙන් නිර්දෝෂ ව පිළිසිඳීමේ මංගල්‍යය (දෙසැම්බර් 08)

- දේව මාතාවන් මුල්කොට ගෙන යාච්ඤා, ගීතිකා, භක්ති අභ්‍යාස යනාදිය නිර්මාණය වී තිබීම.
- මරියතුමිය වෙනුවෙන් දේවස්ථාන කැපකර ඒවායෙහි වාර්ෂික මංගල්‍යයන් සැමරීමට අවසර දීම. නිදසුන් :- ලංකාවේ අප ස්වාමි දූ සදසරණ මෑණියන්, මාතර අප ස්වාමි දූ, මරුද මඩු මෑණියන්.

ශුද්ධවන්තයන් අතර උසස් ම ගෞරවය හිමි වන්නේ මරිය තුමියට ය. එහෙයින් අප හදෙහි ඇති ගෞරවාදරය එතුමියට නිසි ලෙස පුද කරන්නට හැකි සැම විට ම උත්සාහ ගනිමු.

**ක්‍රියාකාරකම**

1. ගාබ්‍රියෙල් දේවදූතයා විසින් මරිය තුමියට මංගලම් කීම තුළින් නිර්මාණය වූ යාච්ඤාව නම් කරන්න.
2. මරිය තුමියගේ මංගල්‍ය **තුනක්** නම් කරන්න.
3. මරිය තුමිය වෙනුවෙන් කැපකර ඇති දේවස්ථාන **තුනක්** ලියන්න.



***ජීවිතයට බිඳක්***

*දිනපතා ජපමාලය උච්චාරණය කරමින් හා හැකි සෑම විට ම මර්දන ක්‍රියා කරමින් අන් අයගේ ගැලවීම උදෙසා මම යාච්ඤා කරමි.*

# 23 පොදු යැදුම්

යාච්ඤාව දෙවියන් වහන්සේ සමඟ ප්‍රේමයෙන් බැඳී කෙරෙන සුහද සාකච්ඡාවකි. මෙම සාකච්ඡාව සඳහා ක්‍රම දෙකක් භාවිත කළ හැකි ය.

1. කට පාඩම් කරගත් යාච්ඤා භාවිත කිරීම
2. තමන් විසින් ම නිර්මාණය කළ යාච්ඤා භාවිත කිරීම.

අප ම නිර්මාණය කර ගන්නා යාච්ඤා එසේ නැති නම් යැදුම් තුළින් අපේ ම හදවතින් නැගී එන සිතුම් පැතුම් අවංකව ම දෙවියන් වහන්සේට ප්‍රකාශ කළ හැකි ය. එමගින් අප හා දෙවියන් වහන්සේ අතර ඇති සබඳතාව වැඩි වර්ධනය වේ. එය ගැඹුරු යාච්ඤා දිවියකට මඟ පාදනු ඇත.

මෙවන් යාච්ඤා ක්‍රමයකට අප හුරුවන තුරු ශුද්ධ වූ සභා මාතාව සකස් කර දී ඇති පොදු යැදුම් බෙහෙවින් ම අපට වැදගත් වේ. එම යැදුම්වල ප්‍රයෝජන කිහිපයකි.

- යාච්ඤා කිරීමට හුරුවක් ලැබීම
- යාච්ඤා නිර්මාණයට මඟ පෙන්වීමක් ලැබීම
- පොදුවේ යාච්ඤා කරන විට ශබ්ද නඟා සියලු දෙනාට ම උච්චාරණය කළ හැකි වීම
- පෞද්ගලික යාච්ඤාවේ දී පවා භාවිත කළ හැකි වීම.

විශ්වාස ලක්ෂණය, තුන්කාලයේ ආරාධනාව, පාස්කු කාලයේ තුන්කාලයේ ආරාධනාව, දයාධික මනස්ථාපය එවැනි පොදු යැදුම් කිහිපයකි. මෙබඳු යාච්ඤා භාවිත කිරීමට නම් ඒවා නිවැරදි ව කට පාඩම් කර ගත යුතු ය. අන් අය සමඟ එකට එකතු වී එම යාච්ඤා උච්චාරණය කිරීමේ දී;

- සමූහයක් වශයෙන් එකට එක් ව
- ශබ්ද නඟා
- ඉතා පැහැදිලි ව
- නිවැරදි වේගයෙන්
- විශ්වාසයෙන්
- නිවැරදි ඉරියව් භාවිත කරමින්
- අවධානයෙන් යුතු ව කීම වැදගත් ය.

# අපෝස්තුලුවරුන්ගේ විශ්වාස ලක්ෂණය

- අප විසින් විශ්වාස කළ යුතු සත්‍යතා දොළහක් අපෝස්තුලුවරුන්ගේ විශ්වාස ලක්ෂණයෙහි අඩංගු වේ.
- එය අපගේ විශ්වාසයේ සාරාංශයකි.
- අපේ විශ්වාසය ප්‍රකාශ කරමින් මෙම යාච්ඤාව කියනු ලැබේ.



23.1 රූපය

1. අහස පොළව මැවූ සර්ව බලධාරී වූ පිතාවන දෙවියන් කෙරෙහි ද,



23.2 රූපය

2. ඔහුගේ ඒකපුත්‍ර වූ අපගේ ස්වාමීන් වන ජේසුස් ක්‍රිස්තුන් කෙරෙහි ද විශ්වාස කරමි.



23.3 රූපය

3. මොහු ස්ප්‍රීතු සාන්තු විසින් ගැබ වැස කන්‍යා මරිය තුමියගෙන් උපන්නාහ.



23.4 රූපය

4. පොන්සියෝ පිලාත් හට යටහත් ව වද විඳ කුරුසියේ ඇණ ගැසුම් කා උකුත් වී තැන්පත් කරන ලද්දාහ.



23.5 රූපය

5. පාතාලවලට බැස තුන්වන දා මළවුන් කෙරෙන් උත්ථාන කර වදාරා,



23.6 රූපය

6. පරමණ්ඩලවලට නැඟී සර්ව වල්ලභ වූ දෙවි පියාණන්ගේ දකුණු පාර්ශවයෙහි වැඩ සිටින්නාහ.



23.7 රූපය

7. එහි සිට ජීවතුන්ටත් මළවුන්ටත්, නඩු වදාරන්නට වඩින්ම ය,



23.8 රූපය

8. ශුද්ධාත්මයාණන් කෙරෙහි ද



23.9 රූපය

9. සාධාරණ සාන්ත සභාවෙහි ද සාන්තුවරයන්ගේ සමෝස ධර්මලාභයෙහි ද



23.10 රූපය

10. පාප ක්ෂමාවෙහි ද



23.11 රූපය

11. මාංශෝත්ථානයෙහි ද



23.12 රූපය

12. අනන්ත ජීවිතයෙහි ද විශ්වාස කරමි. ආමෙන්

## තුන් කාලයේ ආරාධනාව

- දේව පුත්‍රයාණන් වූ ජේසුස් වහන්සේ මිනිසත් බව ගෙන මරියතුමියගේ කුසෙහි පිළිසිඳ ගැනීම හෙවත් ජේසුස් වහන්සේගේ මාංශගතවීම මෙම යාච්ඤාව තුළින් සිහිගන්වයි.

- දිනපතාම පෙ.ව. 5.30ට, මධ්‍යහ්න 12.00ට හා ප.ව. 6.30ට මෙම යාච්ඤා උච්චාරණය කරනු ලැබේ.



23.13 රූපය - දේව දූතයා මරියතුමියට මංගලම් කීම.

ස්වාමීන්ගේ දූතයා මරිය තුමියට සැළ කෙළේ ය. එවිට ස්ප්‍රීතු සාන්තු විසින් ගර්භණී වුණා ය.

නමෝ මරියනි ....................

මේ මම ස්වාමින් වහන්සේගේ දසීමි. ඔබ කී වචනය ලෙස මට සිදු වේවා!

නමෝ මරියනි ................

වචන තෙම ද මාංශ වුණේ ය. අප සමග ද වාසය කෙළේ ය.

නමෝ මරියනි ...............

ප්‍ර. ක්‍රිස්තු තුමන්ගේ වාක්දතවලට අප හේතුවන්ත වන ලෙස
උ. කන්‍යා ශුද්ධ වූ දේව මාතාවෙනි, අප නිසා යාච්ඤා කළ මැනව.

යාච්ඤා කරම්හ

ස්වාමිනි, සුරදූතයා සැලකළ වචනයෙන් ඔබගේ පුත්‍ර වූ ක්‍රිස්තු තුමන්ගේ මනුෂ්‍යයා වීම දනගත්තා වූ මේ අපි, එතුමන්ගේ දුක් ප්‍රාප්තිය හා කුරුසියන් උදෙසා මෝක්ෂ ප්‍රතාප මහිමතාවෙන් මාංශෝස්ථානය ලබන ලෙස, අපගේ ආත්ම ඔබගේ කරුණා ප්‍රසාදයට හේතු යුක්ත කොට වදළ මැනව.

මේ කී දේ අපේ ස්වාමී වූ ජේසුස් ක්‍රිස්තුන් උදෙසා ම ලැබේවා! ආමෙන්.

(ත්‍රිත්ව ස්තෝත්‍රය තුන් වරක් උච්චාරණය කරන්න.)

**පාස්කු කාලයේ තුන්කාල ආරාධනාව**

- මෙම යාච්ඤාව ජේසුස් වහන්සේගේ උත්ථානය පිළිබඳ ව සිහි කරනු ලබන යාච්ඤාවකි.
- ආලේලූයියා සෙනසුරාදා දින සිට ශුද්ධාත්මයාණන්ගේ මංගල්‍යය දින සවස දක්වා තුන්කාලයේ ආරාධනාව උච්චාරණය කරනු වෙනුවට පාස්කු කාලයේ තුන්කාලයේ ආරාධනාව උච්චාරණය කරයි.

පරලෝක රාජේශ්වරිනි, ආනන්ද සන්තෝෂ වේවා - ආලේලූයියා

ඒ කිම්දයත් ඔබගේ ශ්‍රී කුසෙහි වාසය කරන්නට
අභිප්‍රාය කළ සේක - ආලේලූයියා

තමන් වහන්සේ පෙර වදාළ ප්‍රකාරයෙන් නැගිට වදාළ සේක - ආලේලූයියා

අප නිසා දෙවියන්ට යාච්ඤා කළ මැනව - ආලේලූයියා

කන්නිමරිය තුමියෙනි, ආනන්ද සන්තෝෂ වේවා - ආලේලූයියා.

ඒ කිම්දයත් ජේසු ස්වාමිදරුවෝ සැබවින් ම නැගී වදාළ සේක - ආලේලූයියා.

යාච්ඤා කරම්හ

සර්වේශ්වර වූ දෙවියනි, ඔබගේ පුත්‍ර වූ ක්‍රිස්තු තුමන්ගේ මාංශෝත්ථානයෙන් ලෝකය සන්තෝෂ කරන්නට කරුණා අභිප්‍රාය කර වදාළ වේ ද? ඔවුන් වහන්සේගේ මාතාවන් වන කන්‍යා මරිය තුමිය උදෙසා අපට අනන්ත කාල සතුටු සිත් දෙවා වදාළ මැනව.

මේ කී දේ අපේ ස්වාමි වූ ජේසුස් ක්‍රිස්තුන් උදෙසා ම ලැබේවා! ආමෙන්.
(ත්‍රිත්ව ස්තෝත්‍රය තුන් වරක් උච්චාරණය කරන්න)

**දයාධික මනස්ථාපනය**

- අප ප්‍රේම කරන්නා වූ දෙවි පියාණන් වහන්සේට ප්‍රතිප්‍රේමය නොදක්වා ඔවුන් වහන්සේට විරුද්ධ ව කළ පාපි ක්‍රියාවන්ට සමාව අයදිමින් උච්චාරණය කරන යාච්ඤාවකි.
- පාපෝච්චාරණ අවස්ථාවේ දී පව් කමාව ලබා ගැනීමට ප්‍රථම උච්චාරණය කරන යාච්ඤාවකි.



23.14 රූපය - පාපෝච්චාරණය කරන අවස්ථාවකි.

මාගේ දෙවියනි, මම ඔබ වහන්සේට අනදර කළ නිසා බොහෝ සේ වික්ෂෝප වෙමි. මාගේ පාපවලින් මා සදා කාල නිරාගින්නට හිමි වූ හෙයින් ද මාගේ දයාබර ජේසුස් ක්‍රිස්තු ස්වාමි දරුවන් කුරුසියේ ඇණ ගැසූ හෙයින් ද විශේෂ කොට සර්ව දයා යහපත්කම් ඇත්තා වූ ඔබට අනදර කළ හෙයින් ද සියලු දේට වඩා ඒවාට වෛර කරමි. මා කළ සියලු පාපවලට මාගේ මුළු හෘදයෙන් ක්ෂමාව ඉල්ලමි. ඔබ වහන්සේගේ පිහිටෙන් මින් මතු පව් නොකර සිටින්නටත් පව් ප්‍රස්තාවලින් වැළකී සිටින්නටත් ඒකාන්තයෙන් ම පොරොන්දු වෙමි. ආමෙන්.

අපි අපගේ දිනපතා යැදුම් අවස්ථාවන්හි මෙවන් පොදු යාච්ඤා භාවිත කරමින් දෙවි පියාණන් වහන්සේට යාච්ඤා කරමු.

**ක්‍රියාකාරකම**

(1). පොදු යැදුම් භාවිතයෙන් ලැබෙන ප්‍රයෝජන දෙකක් ලියන්න.

(2). පහත දැක්වෙන යාච්ඤා තුළින් ඉස්මතු වන එක් සුවිශේෂ කරුණ බැගින් ලියන්න.

- අපෝස්තුලුවරුන්ගේ විශ්වාස ලක්ෂණය
- දයාධික මනස්ථාපනය
- පාස්කු කාලයේ තුන්කාලයේ ආරාධනාව

(3). ඉහත පොදු යැදුම් කට පාඩම් කර ගුරුතුමාට/ගුරුතුමියට පාඩම් දෙන්න.



***ජීවිතයට බිඳක්***

*හිරු කිරණින් ඇරඹී - සඳසිසිලෙන් නිමාවන සෑම දිනක හැකි සෑමවිට ම පොදු යැදුම් සමගින් දෙවිදුන් පසසන්නට නැඹුරු වෙමු.*

# 24 යාච්ඤා වර්ග

දෙවියන් වහන්සේට වන්දනා ස්තුති ප්‍රශංසා කරන්නටත්, අපට අවශ්‍ය දේ ඉල්ලා ගන්නටත් ඔවුන් වහන්සේ වෙත සිත යොමු කිරීම යාච්ඤාව වන්නේ ය. යාච්ඤාව දෙවියන් වහන්සේ සමග ප්‍රේමයෙන් බැඳී කරන සුහද සාකච්ඡාවකි. ඒ සඳහා කට පාඩම් කරගත් වචන මාලාවකට වඩා තම හදවතින් නැගෙන සිතුම් පැතුම් අවංක ව දෙවිඳුන් ඉදිරියේ ප්‍රකාශ කිරීම වඩා ඵලදායී වන්නේ ය.

පෙනෙන නොපෙනෙන සියලු දේ මවා වදාළ සර්ව බලධාරී දෙවි පියාණන් වහන්සේට විවිධ අවස්ථාවල දී යාච්ඤා කළ යුතු ය. ඒ නිසා අපි යාච්ඤා වර්ග නිවැරදි ව හඳුනා ගත යුතු වෙමු;

1. ප්‍රශංසාව - දෙවියන් වහන්සේට ප්‍රශංසා කරමින් කරන යාච්ඤා උදාහරණ :- දිව්‍ය පූජාවේ ප්‍රශංසා ගීතය
2. තුති පිදීම - දෙවියන් වහන්සේගෙන් ලද ආත්මික හා ශාරීරික වරප්‍රසාදවලට ස්තුති කරමින් කරන යාච්ඤා
3. කමාව අයදීම - අප කළ පාපයන්ට සමාව ඉල්ලමින් කරන යාච්ඤා
4. ඉල්ලීම - අපගේ ආධ්‍යාත්මික හා ශාරීරික හා අවශ්‍යතා දෙවියන් වහන්සේට ඉදිරිපත් කරමින් කරන යාච්ඤා

දෙවි පියාණන් වහන්සේට ගෞරව කිරීමත්, ඔවුන් වහන්සේට ප්‍රශංසා කිරීමත් අපගේ යුතුකමකි. අප ද අප සතු සියල්ල ද දෙවියන් වහන්සේගේ මහිමය ප්‍රකාශ කිරීම නිසා අප ඔවුන් වහන්සේට තුති පැසසුම් කළ යුතු ය.

එසේ ම දෙවි පියාණන්ගෙන් අපට ලැබී ඇති දෙමාපියන් වැනි සියල්ල සඳහා අපි දෙවිඳුන්ට ස්තුතිය පුද කිරීම කෙළෙහි ගුණ සැලකීමකි.

අප අතින් නිතර වැරදි සිදු විය හැකි ය. එය දෙවි පියාණන්ට අනදර කිරීමකි. ඒ ගැන කමාව අයැදිය යුතු ය.

එමෙන් ම අපට අවශ්‍ය වන දේ දෙවි පියාණන් වහන්සේගෙන් ම ඉල්ලා ගත යුතු ය. අපේ අවශ්‍යතා දෙවියන් වහන්සේ දන්නා සේක. එහෙත් අපි

ඉල්ලීමෙන් ඔවුන් වහන්සේ වෙත අපේ විශ්වාසයත්, බලාපොරොත්තුවත් රඳා පවතින බව ප්‍රකාශ වන්නේ ය.

අප අන් අය සඳහා ද යාච්ඤා කළ යුතු යි. එහෙත් අප ඉල්ලන දේ දේව කැමැත්ත අනුව අපට ලැබෙන ලෙස ප්‍රාර්ථනා කළ යුතු ය. අපේ ඉල්ලීම්වලින් යහපත් දේ පමණක් ඔවුන් වහන්සේ අපට දෙන සේක. මෙම යාච්ඤාවේ අංග අප එදිනෙදා ජීවිතයට ඇතුළත් කරගත යුතු ය.

පැරණි ගිවිසුමේ සඳහන් යාච්ඤා පොත වන්නේ ගීතාවලිය යි. එහි ඉහත සඳහන් යාච්ඤා වර්ග සියල්ල ම ඇතුළත් වන්නේ ය. උදාහරණ කීපයක් මෙසේ දක්වමු. ඒවා අනුකරණය කරමින් අපි දෙවිපියාණන්ට නිරතුරුව ම යාච්ඤා කරන්නට පුරුදු වෙමු.

**i. ප්‍රශංසා කිරීම සඳහා භාවිත වූ යැදුමක් (ගීතාවලිය 150)**

"සමිඳුනේ පසසන්න, දෙවිඳුන්ගේ
ශුද්ධ ස්ථානයෙහි දී එතුමන් පසසන්න
එතුමන්ගේ බලය පවත්නා අහස් තලයෙහි
එතුමන් පසසන්න.
හොරණෑ නාදයෙන් එතුමන් පසසන්න.
කුඩා වීණාවෙන් හා මහා වීණාවෙන්
එතුමන් පසසන්න."

**ii. ස්තුති කිරීම (ගීතාවලිය 92)**

"සමිඳුනි, ඔබට තුති පිදීම හොබනේ ය,
මහෝත්තමයාණෙනි, ඔබ නාමය
වර්ණනා කිරීම යහපත් ය
උදෑසන ඔබේ පෙම පැසසීම හොබනේ ය
රෑ යාමයේ දී ඔබේ
විශ්වාසවන්තකම පැවසීම යහපත් ය"

**iii. කමාව අයදීම (ගීතාවලිය 51)**

"දෙවිඳුනි, ඔබේ දයා කරුණාවෙන් මට අනුකම්පා කළ මැනව.
ඔබේ විපුල දයාවෙන් මගේ අපරාධ මකා දමුව මැනව;
මගේ කෙලෙස්මලින් මා මුළුමනින් සෝදාලුව මැනව;
ඔබට විරුද්ධ ව, ඔබට පමණක් විරුද්ධ ව,

මම පව් කළෙමි; ඔබ හමුවෙහි
මම නපුර කළෙමි.

**iv. ඉල්ලීම (ගීතාවලිය 5)**

"සමිඳුනි, මා යැදුමට සවන් දෙනු මැනව;
මාගේ භාවනාව සැලකුව මැනව.
රජිඳුනි, මාගේ දෙවිඳුනි,
ඔබ සරණ පතා මම එන්නෙමි.
කරුණාවෙන් මා යැදුමට
සවන් දෙනු මැනව;
සමිඳුනි, අලුයම මාගේ යැදුමට සවන් දෙනු මැනව
අරුණ'ලු එන කල පූජා කොට,
ඔබ එනතුරු බලා සිටින්නෙමි"

★ ශුද්ධ බයිබලය පෙරලා ඉහත ගීතිකා සම්පූර්ණයෙන් කියවන්න.

**ක්‍රියාකාරකම**

(1). යාච්ඤා වර්ග **හතර** නම් කරන්න.

(2). පහත අවස්ථා සඳහා සුදුසු යාච්ඤා නිර්මාණය කරන්න.

i. පළමුවන සිකුරාදා දිව්‍ය පූජාව සඳහා සුදුසු විශ්වාසිකයන්ගේ යාච්ඤා **හතරක්**

ii. ඔබේ මිතුරාට/මිතුරියට විරුද්ධ කේලාම් කීම ගැන සමාව අයැදීමට සුදුසු යාච්ඤාවක්

iii. ඔබේ උපන් දිනය වෙනුවෙන් ස්තුතිය පිදීමට සුදුසු යාච්ඤාවක්



***ජීවිතයට බිඳක්***

***යමක් කිරීමට පෙර දෙවිපියාණන් වෙත යාච්ඤා කිරීමට සිතට ගන්න***

# 25 භාවනා කිරීම

**භාවනාව කිරීම සඳහා ආදර්ශයක්**
**(භාවනාව සඳහා සූදානම් වන්න)**

i. අපි සියලු දෙනා ම දෑස් වසා ගනිමු.
ii. අප අවටින් ඇසෙන ශබ්දවලට සවන් දෙමු.
iii. අපට ඉතා ළඟින් ඇසෙන ශබ්දවලට සවන් දෙමු.
iv. දැන් අප ආශ්වාස ප්‍රශ්වාස කරන ආකාරය වෙත අවධානය යොමු කරමු.
v. අප හුස්ම ඉහළට ගන්නා විට හොඳ ගතිගුණ අප තුළට ගන්නා බව සිහි කරමු.
vi. අප හුස්ම පහළට හෙලන විට අප තුළ ඇති නරක ගතිගුණ ඉවත දමන බව මෙනෙහි කරමු.
vii. දැන් අපට ජීවය ලබා දුන් දෙවි සමිඳාන් වහන්සේට අපේ ආදරය ප්‍රකාශ කරමු.
viii. ඔබට ඇසෙන ශබ්ද කුරුළු ගී හඬ සුළඟේ හඬ ඔස්සේ අවට මැවිල්ල ගැන මෙනෙහි කරන්න.
ix. එම මැවිල්ල අතරින් වඩාත් උසස් මැවිල්ල වන ඔබ පිළිබඳ ඇසෙන මෙම ගීයට සවන් දෙන්න.

දේව තාත්තාගේ ආදරය අපට කියා දෙන දෙමාපියන්

රන් කැටියෝ මේ අහපන් - නුඹේ ආදර අම්මා මමයි
රන් කැටියෝ මේ අහපන් - නුඹේ ආදර පියා මමයි
තවත් නුඹට සැඟව කෙනෙක් රහසින් ආදරය කරයි
නුඹ ව අපට, අප ව නුඹට (දුන්නේ ඒ කෙනා තමයි) //

පුන ගැයුම :- ඒ දේව තාත්තා පුතේ, දේව තාත්තා ආදරේට තවත්
නමක් දේව තාත්තා //

පුංචි එවුන් නුඹ වගේ - මේ ලෝකෙට එවන්නේ
තවමත් දෙවි ආදරේ - මනුසත වෙත නිසානේ
ඒ හින්දා රන් කැටියෝ - ආදරේ බෙදපන් ලෝකෙට ආදරේ බෙදපන්
එවිට හුඟක් සතුටු වේවි

පුංචි එවුන් මල් වගේ - දෙවිඳුන්ටයි පිපෙන්නේ
ඒ මල් නෙළාලා පුතේ - දෙවිඳුන්ටයි පුදන්නේ
ඒ හින්දා රන් කැටියෝ - දෙවිඳුට පුදපන් ජීවිතේ දෙවිඳුට පුදපන්
එවිට හුඟක් සතුටු වේවි

"වටිනවාද මම මේ තරම් CD තැටිය"

ආදර දුවේ, පුතේ, ඔබ කොහොම වුනත්, ඔබ කවුරු වුනත් ඔබේ අම්මාට, තාත්තාට ඔබ වටිනවා. දියමන්තියකටත් වඩා, මැණිකකටත් වඩා ඔබ වටිනවා. උණ හපුළු පැටිය කොච්චර කැත වුණත් උණ හපුළු අම්මාට පැටියා ව හැම දේකට ම වඩා වටිනවා. ඒ වගේ ඔබේ අම්මාට ඔබ කුමක් කළත් කොහොම හිටියත් ගොඩක් වටිනවා. ඒ වගේ ම ඔබේ අම්මා, තාත්තා ඔබට ගොඩක් ආදරෙයි. ඔබට ආදරය කරන අම්මාවයි, තාත්තාවයි ඔබ අඳුනනවා. ඔබට පෙනෙනවා. ඒත් ඔබ නොදකින සමහර විට නොහඳුනන කෙනෙක් ඔබට ආදරය කරනවා. ඒ තමයි ආදර දෙවිපියා. "හරි පුදුමයි! කොහොම ද? අපට දේව තාත්තා ආදරය කරන්නේ? අපි ඒ ගැන දන්නේ නැනේ." ඔබෙ හිතේ නැගෙන අන්න ඒ ප්‍රශ්නෙට ගොඩක් උත්තර තියෙනවා. ගස්වැල්, වතුර, පළතුරු, හුරතල් සත්තු ඉන්න ලස්සන ලෝකයක, ලස්සන ළමයෙක් විදිහට ඔබ මැව්වෙත්, ඔබට ගොඩක් ආදරය කරන අම්මා කෙනකුයි, තාත්තා කෙනකුයි ඔබට දුන්නෙත් ඒ ආදර දේව තාත්තා ඔබට ගොඩක් ආදරේ නිසයි. ඔබට වෙන හැම කරදරයක දී ම ඔබට නොදැනුවත්ව ම උදව් කරන්නෙත් ඒ ආදර දේව තාත්තා ම යි. තමන්ට ආදරේ කරන කෙනකුගේ හිත සතුටු වන විදිහට කටයුතු කිරීම යුතුකමක්. ඒ වගේ ම හොඳ දෙයක්. දේව තාත්තාගේ හිත සතුටු කරන්න පුළුවන් හොඳ ම විදිහ තමයි දේව තාත්තා අපට ආදරේ කරන විදිහට අපත් අනිත් අයට ආදරේ කරන එක. එතකොට දේව තාත්තා ගොඩක් සතුටු වේවි. අපේ මව්පියන්ට ආදරේ කරන්නත් කීකරු වෙන්නත් පුරුදු වුනොත්

දේව තාත්තා තවත් සතුටු වේවි. ඒ වගේ ම අනිත් අය ගැන හිතන්න. ඒ අයට උදව් කරන්න, අසරණ අයට පිහිට වන්න. ඒ අය වෙනුවෙන් යාච්ඤා කරන්න පුරුදු උනොත් තව තවත් දෙවි පියා අපි ගැන සතුටු වේවි.

x. හුස්ම ගත් අයුරු පිළිබඳ අවධානය යොමු කරන්න.

xi. අවට ශබ්දවලට සවන් දෙන්න.

xii. ඇස් අරින්න.

**ක්‍රියාකාරකම**

1. ඔබට ආදරය කළ අම්මාට තාත්තාට ඔබගේ ආදරය ප්‍රකාශ කළ හැකි අවස්ථා **තුනක්** සඳහන් කරන්න.
2. මව්පියන්ට අකීකරු වීමට සිතන විට ඉක්මනින් ජේසුස් වහන්සේ අමතන්න. ඔබේ ඇමතුම කෙටියෙන් ලියන්න.
3. මිතුරන් සමග වරදක් කිරීමට හවුල් වූයේ නම්, නොවරදවා ම පාපොච්චාරණය කිරීමට මතක තබා ගන්න.



***ජීවිතයට බිඳක්***

*ඔබේ ජීවිතයේ විශේෂ අවස්ථාවල දී මෙන් ම දිනපතා ද භාවනා කිරීමට පුරුදුවන්න.*

1.1, 9.2, 10.2, 10.3, 10.4, 10.5, 11.4, 12.2, 12.3, 12.4, 12.5, 12.6, 12.7 යන රූප සටහන් හැර අනිකුත් රූප සටහන් අන්තර්ජාලය ඇසුරින් ලබා ගන්නා ලදි.

**10.2, 10.3, 10.4, 10.5, 12.2, 12.3, 12.4, 12.5, 12.6 යන පින්තූර හැර අනෙක් සියලුම පින්තූර අන්තර්ජාලයෙන් උපුටාගෙන ඇත.**